# පස්වග මහණුන් රහත් වූ

# ධර්ම සාරය

# හා

# මිථ්‍යා මත

කතෘ: ෂෙල්ටන් රණසිංහ
**Shelton Ranasinghe**

# පස්වග මහණුන් රහත් වූ ධර්ම සාරය හා මිථ්‍යා මත

**අන්තර්ගතය:**



මෙම කෘතිය නිබන්ධ කිරීමට සහ පළ කිරීමට නොයෙකුත් අන්දමින්
මට සහයෝගය දුන් හිතවතුන්ට මගේ ස්තූතිය!



# පස්වග මහණුන් රහත් වූ ධර්ම සාරය හා මිථ්‍යා මත

~~~

**පෙරවදන**

මා එක්සත් ජනපදයේ පදිංචි සිටින විශ්‍රාමික ලාංකික ඉංජිනේරුවෙකි. බෞද්ධ ධර්මය සහ වෙනත් ආගමික සංකල්ප ගැන කුඩාකල සිට තිබූ කුතුහලය හැත්තෑ දෙවෙනි අවදිය පසු කර සිටින මා තුල තවමත් වර්ධනය වෙමින් පවතී. ඉරිදා දහම්පාසැල් අධ්‍යාපනය යටතේ බෞද්ධආචාර්ය සාමාර්තයක් ලබාගැනීමෙන් ඔබ්බට බෞද්ධ සාහිත්‍ය, ධර්ම සංකල්ප හා විවිධ විශ්වාස කෙරෙහි අධික කාලයක් තිස්සේ ඉතා ආශාවෙන් සහ උනන්දුවෙන් කල අධ්‍යයනයෙන් ලබා ගත් අවබෝධයෙන් මා මානසික ආස්වාදයක් විදිමි. මා තුල තිබූ විශ්වාසයන් පැහැදිලි කර ගැනීම සදහා මම, මා හා සමඟ සිදුකර ඇති දීර්ඝ මානසික තර්කමය විවාද එමටය. තමන් සතු විශ්වාසයන්ගේ සත්‍යතාවය තහවුරු කිරීම උදෙසා විමර්ශන කරන ඔබ වැනි බොහෝ දෙනාට, මනසේ මෙවැනි විවාද ඇතිවීම පොදු ලක්ෂණයකි. දිර්ඝ කාලයක සිට මා මෙසේ පැහැදිලි කරගත් කරුණු අන්තර්ගත ප්‍රබන්ධ කිපයක් ඉංග්‍රිසි භාෂාවෙන් පළ කිරීමට හැකිවීම, මා භාග්‍යයක් ලෙස සලකමි. මෙය, මා පලකරන පලමුවන සිංහල බෞද්ධ කෘතියයි.

අවුරුදු 45 ක ධර්මදූත මෙහෙවරක් තුලින් බුදුන්වහන්සේ දෙසූ විශාල ධර්ම සම්භාරය අවුරුදු 2550කට පසුවත් නවීන මනෝවිද්‍යාඥයන්ගේ අවදානයට යොමුවී ඇත්තේ බොහෝ බෞද්ධ සංකල්පවල අදටත් ඇති වලංගුතාවය පිලිඹිබු කරමිනි. බුදුන්වහන්සේ බුද්ධත්වයට පත්වීමෙන් පසු පලමුවෙන්ම දේශනා කල ධර්මය ශ්‍රවණය කිරීමෙන් පස්වග මහණුන් රහත්භාවයට පත්වීම
~~~

හේතුකොට එම දේශනාව තුල බුද්ධ ධර්මයේ සාරය සම්පීඩනය වී ඇති බවට නිගමනය කලහැක. චතුරාර්ය සත්‍ය, අෂ්ට අශ්ඨාංගික මාර්ගය සහ අනත්ත සංකල්පය මෙම දේශනාවට අදාළ සූත්‍ර දෙකෙන් වදාළ ධර්ම සාරයයි.

චතුරාර්ය සත්‍ය අවබෝධය සහ අෂ්ටඅශ්ඨාංගික මාර්ගයේ වර්ධනය දුක නැතිකිරීමට යෝග්‍ය ක්‍රමවේදයක් ලෙස තාර්කිකව අවබෝධකර ගැනීමට හැකිවුවත් පස්වග මහණුන්ට රහත් භාවයට මුලිකවම කේන්ද්‍රිය වූ අනත්ත සංකල්ප අවබෝධය, කෙනෙකු රහත් භාවය අත්පත්කරගැනීමට කෙසේ සම්බන්ධ වනවාද යන ප්‍රශ්නය නිසැකවම බුදුන් සමයේ සිට පැවත එන විමසුමකි. අනත්ත සංකල්පය හුදෙක් පුනරුත්පත්ති සංකල්පයට පටහැනි වුවත් නැවත ඉපදීම, කර්මය, දිව්‍ය ලෝක, අපාය වැනි බුදුන් සමයේ තිබූ පොදු විශ්වාස බුද්ධ දේශනා තුලින් ධර්මයට අන්තර්ගත වීම තීක්ෂණිකව සිතාබැලිය යුතු කරුණක් ලෙස මට සිතේ. බෞද්ධ දර්ශනයටම පමනක් අනන්‍ය වූ අනත්ත සංකල්පය ගැන මා විවිධාකාරව ප්‍රකාශ කර ඇති පැහැදිලි කිරීම් එම සංකල්පය ගැන ඔබේ අවබෝධය ප්‍රගුණ කර ගැනීමට නිසැකවම රුකුලක් වනවා යැයි මා සිතමි .

මෙම කෘතිය, ඉහත සදහන් ධර්ම සාරය වටා කරන තාර්කික ගවේෂණයකට අමතරව බෞද්ධ දේශනා වල දක්නට ඇති විවිධ සත්‍යමය මෙන්ම මිත්‍යාමය කරුණු ගැන කෙරෙන විශ්ලේෂණයක් ලෙස හැදින්විය හැක. මෙම තාර්කික ගවේෂණයට සහ විශ්ලෙෂණයට අඩංගු කල කරුණු මනාව වටහා ගැනීමට සහ ගැඹුරින් සිතාබැලීමට යෝග්‍ය වනසේ පලකර ඇත. බෞද්ධ සාහිත්‍යයේ ඇති විවිධාකාර යථාර්තයන් නොවන ලාමක අදහස් සහ නොයෙකුත් මිථ්‍යා මත ධර්මයට අන්තර්ගත වීමට තුඩුදුන් කරුණු සම්බන්ධව දක්වා ඇති සාධක සහ හින්දු ධර්ම සංකල්පවලින් බෞද්ධ ධර්මයට ඇතිකර ඇති බලපෑම් පහදාදීමත් තාර්කික සහ විවෘත චිනතනයට නැඹුරු පාඨකයින් අගය කරනවා ඇතැයි මා සිතමි.

## හැඳින්වීම

ප්‍රශ්නය: ‘‘පස්වග මහණුන් රහත් වූ ධර්ම සාරය හා මිථ්‍යා මත’’ යන මාතෘකාව යටතේ මේ කරන සාකච්ඡාමය ප්‍රබන්දයේ අභිප්‍රාය කුමක්ද?

පිළිතුර: සිදුහත්කුමරු, තපස්බවට පත්වූයේ ඉතාමත්ම සුව ජීවිතයක් ගතකිරීමට සැලසුම් කර තිබුන සුපෝපබෝගී පරිසරයක් අතහැර දැමීමෙනි. මෙහිදී ඔහුගේ මූලික අභිප්‍රාය වූයේ ඔහු කනස්සල්ලට පත්කල ජීවිතයේ නිත්‍ය නොවන සහ දුක් සහගත ස්භාවය ගැන ගවේෂණය කර එයට පිළිතුරක් සොයා ගැනීමය. මේ අරමුණ අනුව ඔහු මිඩංගු වූ අවුරුදු හතක පමන දිගු කාලීන ගවේෂණයේ ප්‍රතිපලයක් වශයෙන් සිද්ධාර්ථ තවුසා බුද්ධත්වයට පත්වූ බවත් ඊට පසුව එම අවබෝධය අනිත් අයගේ සුභසිද්ධිය උදෙසා දේශනා කිරීමට තීරණය කල බවත් ත්‍රිපිටකයේ සදහන් වේ.

අපි දන්නා පරිදි, විද්‍යාඥයෙකු අළුත් දෙයක් සොයාගැනීමකින් පසු ප්‍රමුකත්වය දෙන ප්‍රධානතම පියවර වනුයේ, එම පර්යේෂණ ක්ෂේත්‍රය අවබෝධ කර ගත හැකි බුද්ධිමය විද්‍යාඥයන් පිරිසකට තම සොයාගැනීම ඉදිරිපත් කිරීමයි. මෙම ඉදිරිපත් කිරීම්වල අඩංගු දෑ එම බුද්ධිමය පුද්ගලයින් විසින් විවේනාත්මක සමාලෝචනයකට භාජනය කර, අවසානයේදී ඔවුන්ගේ විනිශ්චය අනුව එම සොයාගැනීම් පිළිගන්නවාද නැතිනම් ප්‍රතික්‍ෂේප කරනවාද යන බව දන්වා සිටීම අප දන්නා සාමාන්‍ය පිලිවෙතය. විද්‍යාඥයන්ට මෙවැනි අවස්ථා ඉතාමත්ම වැදගත් වන නිසා තමන් ඉදිරිපත් කරන දැය සැකසීමේදී ඒවායේ සත්‍යතාවය සහ ගුණාත්මකභාවය ගැන වැඩි අවධානයක් යොමු කිරීමට සිදුවනවා ඇත. බොහෝ වෙහෙස මහන්සි වී ලබාගත් නව සිද්ධාන්ත හෝ සොයාගැනීම් සම්භාරය ප්‍රතික්ෂේපයට ලක්කිරීමට ඇති හැකියාව නිසා, සමහර විට ඔවුන් මානසික පීඩනකාරී තත්වයන්ටද පත්වීමට හැක.

මෙවැනි පිලිවෙත් බුදුන් කාලයේ තිබුණේද හෝ නොතිබුණේද යන බව අප නොදන්නා නමුත් බුදුන්වහන්සේ කළ ප්‍රථම දේශනාව එවැන්නකට සමාන කල හැකියැයි එයට මූලික වු කරුණු අනුව අපට සිතිය හැකිය. මේ නිසා තර්කානුකූලව සිතා බැලුවහොත් බුදුන්වහන්සේ පස්වග මහණුන්හට දේශනා කළ ධර්මය බුදුන්වහන්සේ තම ගවේෂණයෙන් ලබාගත් උත්තරීතරම හරය හෙවත් සාරය අන්තර්ගත වුයේ යැයි අපට සැලකීය හැක. මෙම ග්‍රන්ථයේ අභිප්‍රාය එම විශේෂ ධර්ම සාරය මිථ්‍යාවන්ගෙන් තොරව හදුනාගැනීමත්, පාඨකයාන්ගේ අවධානය එම ධර්ම සාරය වෙත විවෘත මනසකින් බැලීමට කරුණු ඉදිරිපත් කිරීමය.

ප්‍රශ්නය: ඔබ දුන් පිලිතුරේ සත්‍යතාවය, ගුණාත්මකභාවය සහ මිථ්‍යාවන්ගෙන් තොරව යන වචන වලින් බෞද්ධ ප්‍රබන්ධයන්වල ඇති කරුණු වල සත්‍යයතාවය ඔබ අනුමාන කරනවාද?
පිලිතුර: පොදුවේ ගත්කල ඕනෑම ආගමික ග්‍රන්ථවල, ජනකතා ඇසුරු දෑ මෙන්ම, ආදී සමාජ තුල තිබු නොයෙක් විශ්වාස ඇසුරු අදහස් වලින් පිරී තිබේ. මෙයට ප්‍රධාන හේතුව ආගම් නිර්මාතෘවරුන්ගේ කීර්තිය ඉස්මතු කිරීමට මෙන්ම පාඨකයන්ට එම ප්‍රබන්ධවල රසාස්වාදය ඉහළ නැංවීමට බව විද්වතුන් දරන මතයයි. අතිවිශාල බෞද්ධ සාහිත්‍ය කෘති වල ඇති දේද මෙයට ව්‍යතිරේකයක් නොවේ. උදාහරණයක් වශයෙන් සිදුහත් උපතට සම්බන්ධ නෙළුම් මල් හත සිද්ධිය සදහන් කල හැක. බෞද්ධ සාහිත්‍යය තුල සංකීර්න මිථ්‍යා මත බහුලව තිබේ. එම නිසා බෞද්ධ ධර්මයේ තිබෙන සත්‍යමය සාරය දැන ගැනීම සදහා විවෘත බුද්ධිමය විමර්ෂණයක් අවශ්‍ය වේ.

විද්‍යාත්මක අධ්‍යයනවලින් පෙනී යන කරුනක් හැටියට ස්වාභාවිකව අපි බොහොමයක් අද්භූත හා ආගමික විශ්වාසයන් කෙරෙහි දැඩි නැඹුරුතාවයක් දක්වයි. ලාංකික පාර්ලිමේන්තු මන්ත්‍රීවරුන් තමන්ගේ අත්වල පැලද ඇති විවිධ වර්ණවලින් යුත් නූල් වැනි පලඳනා මෙයට කදිම උදාහරනයකි. අපගේ

මානව පරිණාමය හා සමාජමය ගති ලක්ෂණ වල බලපෑම් මෙයට හේතුන් ලෙස සැලකේ. ආගමික නායකයෙකුගේ නම ඇසීමෙන් පමණක්ම මානසික තෘප්තීන් ඇති කලහැකි මොළයේ උත්තේජන අංශ තිබෙන බව මොළය ගැන හදාරන විද්‍යාඥයින් පර්යේෂණ මගින් සොයාගෙන ඇත. මෙවැනි මානසික සාධක අපගේ චින්තන ක්‍රියාවලියට බලපාන බවත්, ඒම ලක්ෂණ අපි අගය කරන ආගමික විශවාස සමඟ දැඩිසේ බැදී සිටීම තව තවත් ප්‍රවර්ධනය කරන බවත් ඔවුන් පෙන්වා දෙන කරුනකි.

ප්‍රශ්නය: බෞද්ධ ප්‍රබන්ධයන්ගෙන් සත්‍යය වෙන්කර හඳුනා ගැනීම ඔබේ අභිප්‍රායක්ද?

පිළිතුර: ඔව්! විද්‍යාව සත්‍යය අසත්‍යයෙන් වෙන් කරනවාට සමානව, බුද්ධිමය විභේදනයකින් බෞද්ධ සාහිත්‍යය තුළ අන්තර්ගත වී ඇති නොයෙකුත් මිථ්‍යා විශ්වාසයන්ගෙන් යථාර්ථය හඳුනා ගැනීම වැදගත් වේයැයි මා සිතමි.

ප්‍රශ්නය: ඔබ මෙයින් අදහස් කරන්නේ කුමක්ද?

පිළිතුර: අපි විවෘත මනසකින් බෞද්ධ ඉගැන්වීම් තාර්කිකව ගැඹුරු අයුරකින් අධ්‍යයනය කළහොත් අපට මිථ්‍යා සහ අද්භූත විශ්වාසයන් පහසුවෙන් හඳුනාගන්නට පුළුවන. කෙසේ වෙතත්, තාර්කිකත්වයද සාපේක්ෂ බැවින්, මෙවැනි හඳුනා ගැනීම් පුද්ගලයාගෙන් පුද්ගලයාට වෙනස් වෙයි. බෞද්ධ ධර්ම ගවේෂණයේදී මා ගෙන ඇති තාර්කික ප්‍රවේශය අන් අයට වඩා බෙහෙවින් වෙනස් විය හැකි බව මා දනිමි. මේ නිසා, සමහර විට මෙම සංවාදයේ මා දරන විශේෂිත තාර්කික අදහස් හැඟීම්බර බෞද්ධයන්ගේ හැඟීම් කැළඹීමට හැකියාවක් ඇති බව මට සිතේ. එබැවින්, මගේ අදහස් ඕනෑම කෙනෙකුගේ සිත රිදවන හැඟීම් ඇති කරන්නේ නම්, මා කල්තියාම ඒ ගැන සමාව අයදින බවට මෙහිදී සදහන් කරමි. එය එසේ වුවහොත් මගේ අදහස් විවෘත මනසකින් තේරුම් ගැනීමට ඔවුන්ට අවශ්‍ය නම් පමනක් මිස, මෙම

සාකච්ඡාව දිගටම කියවීම කරගෙන නොයන ලෙසටද මා ඔවුන්ගෙන් ඉතා ඕනෑකමින් ආයාචනා කර සිටිමි.

ප්‍රශ්නය: මෙම සාකච්ඡාවේ ආරම්භයේදීම ඔබ එවැනි ප්‍රකාශයක් කරන්නේ ඇයි?
පිළිතුර: මෙයට හේතුව, මිනිස් මනස සෑම පුද්ගලයකුගේම මූලික විශ්වාසයන්ට ඉතාමත්ම සංවේදී සහ සමීප නිසාය. විශේෂයෙන් මෙහිදී මම අදහස් කරන්නේ ආගමික, මිථ්‍යා හා අද්භූත අදහස් කෙරෙහි යමෙකු හට තිබෙන භක්තිමය විශ්වාසයන්ය. මෙම විශ්වාස අපගේ මොළයේ චින්තන පරිපථ තුළ කා වැදී ඇති නිසා ඒවා අපගේ මානසික සිතුවීම් වලට අධික ලෙස බලපායි. කෙනෙකුගේ විශ්වාසයන්ට යම් බාධාවක් සිදුවුවහොත්, එම කෙනාගේ මනස දැඩි ලෙස පීඩාවට පත් වීමට හැකියි. සංජානන විසංවාදය ලෙස හැඳින්වෙන එවැනි කැළඹීම් දිගු කාලීන මානසික ආතතියන් ඇතිකල හැක. මෙය සත්‍යයමය කරුනක් නිසා හැමෝම එය ගැන විශේෂ අවදානයක් යොමු කිරීම යෝග්‍යයි.

ප්‍රශ්නය: විශ්වාස සම්බන්ධ බලපෑම් වලට අපේ මනස ලක්වීමට පටහැනිව, අව්‍යාජ තාර්කික චින්තනය ප්‍රවර්ධන කිරීම උදෙසා බෞද්ධ ඉගැන්වීම්වල පවසා ඇත්තේ කුමක්ද?
පිළිතුර: මනසෙහි ස්වභාවය පිළිබඳ විශේෂතා දැනුමක් සහ විශ්වාසයන් මිනිසාට කරන මානසික බලපෑම් සම්බන්ධව අද්විතීය අවබෝධයක් බුදුන්වහන්සේ සතුව තිබුණි. ඔබේ ඇසූ ප්‍රශ්නයට පිළිතුර සපයන අනර්ඝතම බෞද්ධ සූත්‍රය ලෙස "**කාලාම සූත්‍රය**" සැලකිය හැක. පුළුල් අර්ථයකින් ගත් කල, කාලාම සූත්‍රය තුළින් බුදුන්වහන්සේ ලෝක වැසියාට පහත සඳහන් දේ වදාළහ.

"ඔබට දැනගන්න ලැබෙන දේ ඔබේම හේතු සහ ඔබේ බුද්ධිය සමඟ එකඟ නොවන්නේ නම්, ඔබ එය කොතැනකින් කියවූවත්, කවුරුන් විසින් කීවත් එය විශ්වාස නොකරන්න. හිස් වචන දහසකට වඩා, සාමය ගෙන දෙන එක් වචනයක් වටින බව සලකන්න. යමක් ඔබ අසා ඇති පමණින්ම විශ්වාස නොකරන්න. බොහෝ දෙනා කතා කරන නිසා හෝ කටකතා පැතිර ඇති නිසාද කිසිවක් විශ්වාස නොකරන්න. කිසිවක් ඔබගේ ආගමික කෘති වල ඇති බැවින්ම එයද විශ්වාස නොකරන්න. ඔබේ ගුරුවරුන්ගේ සහ වැඩිහිටියන්ගේ බලකිරීම මත කිසිවක් විශ්වාස නොකරන්න. පරම්පරා ගණනාවක් තිස්සේ ගලා ඇති සම්ප්‍රදායන් වීම නිසාත් විශ්වාස නොකරන්න. නිරීක්ෂණයෙන් හා විශ්ලේෂණයන්ගෙන් පසුව, ඕනෑම දෙයක් තර්කානුකූලව එකඟ වන බවත්, සියල්ලන්ගේම යහපතට හිතකර බවත් ඔබට ඒත්තු ගිය විට, එය පිළිගෙන ඒ අනුව ජීවත් වන්න. අතීතයේ වාසය නොකරන්න. අනාගතය ගැන සිහින නොදක්වන්න. වර්තමාන මොහොතේ දැකීම සඳහා මනස යොමු කරන්න. සාමය උදාවන්නේ සිත ඇතුළතින්ය. සිතෙහි අවබෝධය නැතිව එය නොසොයන්න."

ඉහත දී ඇති උපදෙස් පරිදි, සියලු මිථ්‍යාවන් පසෙකට දැමූ පසු බුදුදහම තාර්කික දෘෂ්ටිකෝණයකින් බැලීමෙන් එහි සාරය අපට තෝරා ගැනීමට හැකි වනු ඇත. මෙවැනි විවෘත ප්‍රකාශයක් වෙනත් කිසිම ආගමික ඉගැන්වීම්වල දක්නට නොලැබේ. බොහෝ ආගම් ඉල්ලා සිටින්නේ ආගමික ඉගැන්වීම්වලට යටත් වීමටත්, එම දෑ ගැන සැකසිත් උපදවුවහොත් එයට නිරන්තරයෙන්ම දඬුවම් විදීමට බලාපොරොත්තු වෙන ලෙසටත්ය.

ප්‍රශ්නය: ඒම උපදෙස් ප්‍රසන්නවත්. නමුත් මම හිතන්නේ නැහැ සෑම බෞද්ධයෙක්ම මෙම මතය අනුගමනය කරයි කියා?

පිළිතුර: ඔබ සීයට සීයක්ම නිවැරදියි. එයට හේතුව, කුඩා කල සිටම සෑම මොළයක්ම වෙනස් ලෙස විවිධ මත ඔස්සේ වර්ධනය වී ඇති වීමයි. තාර්කික චින්තනය තුළින් විවේචනාත්මක පරීක්ෂණ සහ සත්‍යාපනය සිදු කරන ලෙස කාලාම සූත්‍රය සියලුම අනුගාමිකයන්ට උපදෙස් දී ඇත්තේ, ඒ නිසාමයි.

ප්‍රශ්නය: "පස්වග මහණුන් රහත් වූ ධර්ම සාරය සහ මිථ්‍යා මත" යන මාතෘකාව ඔබ සාකච්චාව ආරම්භ කිරීමට කැමති කොතනින්ද?
පිළිතුර: පලමුව සිදුහත් කුමරුගේ ජීවිතය තේරුම් ගැනීම වඩා යෝග්‍ය වනු ඇතැයි මට සිතේ. එසේ කලහොත් සිද්ධාර්ථ කුමරු බුදු වීමට පෙර ඔහුගේ මනෝභාවයේ ස්වභාවය පිළිබඳව දළ වශයෙන් හෝ අදහසක් අපට ලබා ගත හැකිය.

<u>සිද්ධාර්ථ කුමරුගේ ළමා කාලය</u>

ප්‍රශ්නය: සිදුහත් කුමරුගේ මව, මහාමායා දේවිය දුටු සිහින වැනි දේ රාශියක් ගැන මම අසා ඇත. ළදරු කුමාරයා නෙළුම් මල් මත සිය පළමු පියවර ගැනීම සහ ඉන්පසු තමා අනාගතයේදී ලෝකයේ උත්තරීතම පුද්ගලයා වන බවට මහිමාන්විත ලෙස ලොවට ප්‍රකාශ කළ බවද මා අසා ඇත. බෞද්ධ සාහිත්‍යයේ දක්නට ලැබෙන මේ සියල්ල මිථ්‍යා මත යැයි ඔබ සිතනවාද?
පිළිතුර: නිසැකවම ඔව්. මා හිතන්නේ සියලුම ළදරුවන් මේ ලෝකයට ඉපදින විට ඔවුන් සුපුරුදු ගෝෂාකාරි ඇඩීමෙන් කරන්නේ එකම ප්‍රකාශයක් බවයි. මෙහි ඇති වෙනස නම්, සිදුහත් කුමරුගේ ළදරු භාෂා ඇඩීම, අන් අයගේ දැනුම සඳහා යමෙකු විසින් පරිවර්තනය කිරීමයි. මා මේ ප්‍රකාශය උපහාසාත්මක අදහසකින් සඳහන් කරන නමුත් බෞද්ධ සාහිත්‍යයේ මෙවැනි නිබන්ධ බොහෝ ඇත. බුද්ධිමත් පුද්ගලයන් මෙවන් දෑ වල ඇති මිථ්‍යාභාවය නුවනින් දකිනා නමුත් මේවා සත්‍ය ඓතිහාසික කරුණු ලෙස සලකන තවත් බොහෝ අයද සිටිති.

ළදරු කුමාරයා තම මවගේ සිරුරේ දකුණු පැත්තෙන් මවට කිසිදු වේදනාවක් නොදැනී බිහි වූ කථාව සහ ඊට පසුව ළදරු කුමාරු එහි පැමිණ සිටි ගෞරවනීය දෙවිවරුන් පෙළකට අතින් අතට යෑම යන කථා ඇත්ත වශයෙන්ම සුදුසු වන්නේ ළමා මනස් වලටය. බොහෝ විට කුමරු බිහිවීමෙන් පසු මහාමයා දේවියට ඇති වූ ශාරීරික සංකූලතා ඇගේ මරණයට හේතු වන්නට ඇති නමුත් ඇයගේ මරණය සාධාරණීකරණය කිරීමට ඉවහල් කරන කොහෙත්ම තර්කානුකූල නොවන කථා රාශියක් බෞද්ධ සාහිත්‍යයේ අන්තර්ගත වී තිබේ.

ප්‍රශ්නය: මම ඔබ අදහස් කරන දෙයට එකඟයි. සිදුහත් කුමාරයාගේ උපත ගැන ඔබට තවත් කිව හැක්කේ කුමක්ද?
පිළිතුර: බෞද්ධ සාහිත්‍යයෙහි මිනිසුන් සහ දෙවිවරුන් සම්බන්ධ කරන මිථ්‍යා සිද්ධීන් බහුලයි. බුදුන්වහන්සේගේ ජීවිත කථාව පුරාම මෙම සබැඳියාව ඉතා සුලභව පෙනෙන්නට තිබේ. සිදුහත් උපත සම්බන්ධ කථාව ආරම්භය වන්නේ සිදුහත් කුමරු පෙර ජීවිතයේ තරුණ දෙවියෙකි යනුවෙන් හැදින්වීමෙනි. මෙහිදී ජ්‍යෙෂ්ඨ දෙවිවරුන් මිනිස් වර්ගයාගේ සුභසිද්ධිය සඳහා මහමායා දේවියගේ කුස තුළ පිළිසිඳ ගැනීමට කාලය එළඹ ඇති බව මෙම තරුණ දෙවියන්ට මතක් කිරීමක් සිදුවේ.

තවත් කථාවක, කුමරුගේ පියා සුද්දෝදන රජුගේ උපදේශයෙකු වන වයෝවෘද්ධ අසිත තාපසයා කුමරුගේ උපත සිදුවනවිට කිසියම් දෙව් ලොවක විවේක සුව ගත කරමින් සිටියේ යැයි සඳහන් වෙයි. ඔහු සක්මන් කරමින් සිටියදී සමහර දෙවිවරුන් ප්‍රීති වන අයුරු දැක ඒ ගැන විමසීමේදී, සිදුහත් කුමරුගේ උපත ඔවුන් සමරන බව දැනගැනීමට ලැබේ. මෙයින් පසු, අසිත තවුසා වහාම කුමරා බැලීමට මාලිගාවට ගොස් ඇත. රජතුමා කුමරුව තවුසාට පෙන්වීමේදී, ළදරු කුමාරයාගේ පාද තාපසයාගේ ජටාවේ වැදී ඇත. මෙම සිද්ධිය පදනම් කරගෙන අසිත තාපසයා අනාවැකියක් පළ කළේ, සිදුහත් කුමරු කවදා හෝ ඉතා ගෞරවයට පාත්‍ර වන ශුද්ධ මනුෂ්‍යයෙකු වන බවය.

මෙම කතාවේ අනාවැකිය අපි පසුව කතාකරමු. මෙම කථාවට අනුව, සමහර අයට දෙවිවරුන් සමඟ දිව්‍යලෝකවල විවේක සුව ගත කිරීමට හැකියාවක් තිබූ බව පෙනේ. මෙම සුවිශේෂී දිව්‍යලෝකය පිහිටා තිබුණේ යාබද නගරයක නම් මේ කතාවේ යථාර්ථය තේරුම් ගත හැකිය. කෙසේ වෙතත් සමහර බෞද්ධයන් මෙමැනි දෙව්ලොව් සම්බන්ධ කථා සැබෑ ඓතිහාසික කරුණු ලෙස විශ්වාස කිරීම කනගාටු සහගතය. මෙම කථාව කුමක් වුවත්, මේ ආකාරයේ ආශ්චර්යමත් කථා අනෙක් සියලුම ආගම් සාහිත්‍යයන්හිද බහුලව දක්නට ලැබේ. මෙවැනි ප්‍රබන්ධ කථා වල පරමාර්ථය හුදෙක් සත්‍ය කරුණු ප්‍රකාශ කරනවාට වඩා ආගමික අනුගාමිකයන්ට එම ආගම්වල ඇති ඇදහීම් ගැන කුතුහලය සහ බක්තිය ඇතිකිරීමට බව අපි සිහියට ගත යුතුයි.

තරුණ සිදුහත් කුමරු එකම දිනකදී හෝ යාබද දින කීපයකදී දුටු සුප්‍රසිද්ධ දර්ශනයන් හතරක් වූ ලෙඩෙක්, මහලු අයෙක්, මියගිය ශරීරයක් සහ තපස් රකින පුද්ගලයෙක් පිළිබඳව ඇති මතය කෙරෙහි මගේ අදහස් දැක්වීමට මා කැමතිය. මෙම දර්ශනයන්, සිදුහත් කුමරු ජීවිතයේ අනිත්‍ය ස්වභාවය අවබෝධ කර ගැනීමටත්, දුක් වේදනා නැති කිරීමට විසඳුමක් සෙවීම සඳහා ඔහුගේ පැවිදි ගමන ආරම්භ කිරීමට පෙලබවීමක් සහ රුකුලක් වූ බව පිලිගත හැකි නමුත් සිදුහත් කුමරු වැනි උගත් හා පරිණත පුද්ගලයෙකු වයස අවුරුදු 28 වන තෙක් ජීවිතයේ මෙවැනි ස්වභාවික දෑ දැන සිටියේ නැතැයි උපකල්පනය කිරීම කිසිත්ම තර්කානුකූල නොවනවා පමනක් නොව ඔහුට කරන අගෞරවයකි. කුමරුට ආවේණිකව තිබූ දාර්ශනික භාවය සැලකිල්ලට ගත් විට, ඔහු ගිහිගෙය අත්හැරීමට ගත් තීරණය කලක් තිස්සේ ඔහුගේ හේතුසහගත සිතිවීම් වලට අනුව සිදුවූ බව වටහා ගැනීම තර්කානුකූලයයි මම සිතමි. ඔහු අත්විඳින ලද මානසික අවපාත ස්වභාවයට පිළිතුරක් සෙවීම ඔහුගේ ප්‍රධාන අදහස විය හැකිය. සුද්ධෝදන රජතුමා සිදුහත් කුමරා වෙනුවෙන් සුඛෝපභෝගී බව ඉක්මවා යාමට සැලැස්වීම සහ ඔහුව දැඩිසේ

ආරක්ෂා කිරීමට උත්සාහ දැරීමද, ඔහු ගිහිගෙය අතහැර දැමීමේ තීරණය කෙරෙහි බලපෑමක් ඇති කිරීමට ඉඩ තිබුණ බව උපකල්පනය කල හැකිය.

ප්‍රශ්නය: සිදුහත් කුමරුගේ හැදී වැඩීම ගැන අප දන්නේ කුමක්ද?
පිළිතුර: ඔහු ළමා කාලයේදී අතිශයින්ම ආගමික භක්තියක් තිබූ අයෙකු වන්නට ඇති කියා මම විශ්වාස කරමි. ඔහු ආගමික මනසක් ඇති දරුවෙකු වීමට ප්‍රධාන හේතු දෙකක් මට සිතේ. එකක් ඔහුගේ සහජ ස්වභාවය විය හැකිය. අනික ඔහු ඉපදුණු පසු ඔහු ගැන කරන ලද අනාවැකිවල බලපෑම විය හැකිය. සිදුහත් කුමරු කවදා හෝ ආගමික නායකයෙකු බවට පත්වනු ඇතැයි අසිත තවුසාගේ අනාවැකියට අමතරව, සුද්දෝදන රජතුමාගේ අනුසාසකයින් අට දෙනාගෙන් බාලම සහ බුද්ධිමත්ම තැනැත්තා වූ කොණ්ඩඤ්ඤ තවුසාද සිදුහත් කුමරු අනිවාර්යයෙන්ම බුදුන් බවට පත්වනු ඇතැයි අනාවැකි පළ කර තිබුණි.

අපි මෙහිදී යමක් උපකල්පනය කළ යුතුයි. බුද්ධ නමින් උතුම් තැනැත්තකු සම්බන්ධ වචනයක් ඒ සමයේ ව්‍යවහාරයේ නොතිබුණි. එමනිසා මෙහිදී බුදුකෙනෙක් යන වචනයේ තේරුම හින්දු ආගමේ අර්ථ දක්වා ඇති පරිදි මෝක්ෂය ලබාගත් පුද්ගලයෙක් හැටියට සැලකිය යුතුය. සිදුහත් කුමරුගේ පවුල ඇතුළු ඉන්දියාවේ බොහෝ අය එකල තිබුන හින්දු ආගමට සම්බන්ධ ඇදහිලි අනුගමනය කරමින් සිටි අයබව තේරුම් ගත යුතුයි. සුප්‍රසිද්ධ හින්දු ග්‍රන්ථයක් වන "බ්‍රහදාරන්යක උපනිෂද්යේ" දක්වා ඇති අන්දමට මෝක්ෂ යන වචනයේ අර්ථය, තමන්ගේ ආත්මය භාජනය වන උපත් හා මරණ චක්‍රයෙන් මිදීමේ භාග්‍යය අත් කර ගැනීමය.

සිදුහත් කුමාරයා ගැන කර තිබූ සියලුම අනාවැකි අනිවාරයෙන්ම මුළු රාජධානියේ සිටි සියලු දෙනාම පාහේ දැන සිටි බැවින් ඒවා රහස් ලෙස සැලකීම අණුවන අදහසකි. මේවා ගැන සිදුහතුන් දැන ගැනීමෙන් වැළැක්වීම

සඳහා තම පියා පැනවූ රහස්‍යභාවය රැකීම ප්‍රායෝගිකව අතිශයින්ම අපහසු කාර්යයකි. එමනිසා, කුමාරයා වැඩෙන විට මේ අනාවැකි සියල්ලම පාහේ ඔහු දැනගන්නට ඇතැයි මගේ අදහසයි. සිදුවත් කුමාරයා ඔහු පිළිබඳව ඇති අනාවැකි දැනගත් පසු, යම් දිනෙක ඒවා ඔහුගේ ජීවන ඉලක්කයන් හැටියට ඉෂ්ට කිරීමට ඇති අභියෝගය, නිසැකවම ඔහුට මානසිකව බලපාන්නට ඇතැයි උපකල්පනය කල හැක්කේ මෙවැනි බලපෑම් පොදු මානව ලක්ෂණයන් නිසයි.

ප්‍රශ්නය: සිදුහත් කුමරුගේ අධ්‍යාපනය ගැන කුමක් කිව හැකිද?
පිළිතුර: වයස අවුරුදු හතේ සිට කුමරුට "ගුරු - ගෝල" පදනම මත විශ්වමිත්‍ර නම් ගුරුවරයෙකු මගින් අධ්‍යාපනය ලැබීය. "ගුරු - ගෝල" අධ්‍යාපන ක්‍රමය යටතේ ශිෂ්‍යයා මුලුමනින්ම පාහේ ගුරුවරයාගේ භාරයට පත්වන අතර, දරුවා ඇති දැඩි කිරීම හා අධ්‍යාපනය ලබා දීම පිළිබඳ සම්පූර්ණ වගකීම ගුරුවරයා විසින් දරනු ලැබේ. අධ්‍යාපනය හා පුහුණුව අතරට අධ්‍යාත්මික විෂයයන්, යහපාලනය, මලල ක්‍රීඩා කුසලතා සහ රාජකීය කුමාරයෙකු රාජ්‍යයක් පාලනය කිරීමට හා රාජ්‍ය ආරක්ෂා කිරීමට අවශ්‍ය සියලු අත්‍යවශ්‍ය දේ ඇතුළත් වේ.

සිදුහත් කුමාරු නිසැකවම එම කාලයේ තිබූ හොඳම අධ්‍යාපනය මෙලෙස ලබන්නට ඇත. එකල රාජකීය පවුල අනුගමනය කළ ආගම හින්දු ආගමේ සබැදියකි. එම නිසා වෙනත් දේ අතර, භක්තිමය සිසුවකු වීම නිසා සිදුහත් කුමාරු හින්දු ආගම අතිශයින් හොඳින් අධ්‍යයනය කරන්නට ඇතැයි මගේ හැඟීමයි. කුමරුගේ ළමා ක්‍රියාකාරකම් පිළිබඳ බොහෝ තොරතුරු නොමැති නමුත් සිදුවත් කුමරු සිය ඥාති සොහොයුරෙකු වූ දේවදත්ත කුමරු සමඟ ඇති වූ ගැටුම් කිහිපයක් ගැන බෞද්ධ ග‍්‍රන්ථ වල සඳහන් වේ. බොහෝ වාර්තා පෙන්වා දෙන පරිදි, සිද්ධාර්ථ කුමරු ඉතා කාරුණික හා තර්කානුකූල මනසක් තිබූ දරුවෙකි.

ප්‍රශ්නය: සිද්ධාර්ථ කුමරු කුමන අන්දමේ ආගමික සංකල්ප හදාරන්නට ඇතිද?

පිළිතුර: ඔහුගේ ගුරුවරයා වූ විශ්වමිත්‍ර යටතේ සිටි කාලය, ඔහු හින්දු ආගම ගැන සියල්ල ඉගෙන ගත් කාලය බව පැහැදිලිය. හින්දු ආගමේ සංකල්පයන් වන ‘‘සංසාරය’’ - උපත සහ මරණයේ නිමක් නැති චක්‍රය සහ මූලික හින්දු සංකල්ප වන; ‘‘කර්මය’’ - හේතු පළ වාදය; ‘‘මායා’’ - නිර්මාණාත්මක ශක්තිය; ‘‘ධර්මය’’ - සදාචාරාත්මක යුතුකම්; ‘‘අහිම්සා’’ - අවිහිංසාව; ‘‘ආත්මය’’ - ආත්මය; ‘‘මෝක්ෂය’’ - උපත් සහ මරණ චක්‍රයෙන් නිදහස් වීම; විවිධ දිව්‍ය ලෝක, නිරය, දෙවිවරුන්, බ්‍රහ්මයන්ගේ පැවතීම ඇතුළු නොයෙකුත් හින්දු විශ්වයන් ගැනද හදාරන්නට ඇති බව නොවනුමානය.

හින්දු ආගමේ ඉහළම මට්ටමේ අධ්‍යාත්මික ගුණ වගාව හැටියට තමන්ගේම අභ්‍යන්තර ගැන ස්වයං සාක්ෂාත් කර ගැනීමේ පරමාර්ථය අනුගාමිකයන්ට ලැබෙන උපදෙසයි. හින්දු ධර්මය දහස් ගණනක් බ්‍රහ්මයන්, දෙවිවරුන් හා දේවතාවියන්ගෙන් සමන්විත බහු පද්ධති සංයුතියකට සම්බන්ධ වුවක්ය. හින්දු ආගමේ බ්‍රාහ්මාන් හෙවත් මහාබ්‍රක්ම යනු ඉහළම විශ්වීයමූලය වනවා මිස එය ඒබ්‍රහමික ආගම්වල සඳහන් පරිදි මානව ස්වරූපයකින් සිටින අධිපති දෙවිකෙනෙක් නොවීය. බ්‍රාහ්මාන් යනු විශ්ව ශක්ති ප්‍රභවයක් ලෙසද අර්ථ දක්වනු ලැබේ. කෙසේ වෙතත් සියලුම හින්දු දෙවිවරුන් හා දේවතාවියන් මහාබ්‍රක්ම යටතේ සකස්වුනු සංවිධානාත්මක ව්‍යුහයක් යටතේ පවතී.

ප්‍රශ්නය: හින්දු ආගමේ ඉතිහාසය කුමක්ද?

පිළිතුර: ඒක හොඳ ප්‍රශ්නයක්. හින්දු ආගමේ මූලාරම්භය පිළිබඳ විද්වතුන් අතර තවමත් මතභේදාත්මක විවාද තිබෙනවා වුවද, අප බුද්ධ ධර්මය සමාලෝචනය කිරීමට පෙර හින්දු ආගම ගැන යම් දැනුමක් ලැබීම යෝග්‍යයි.

මිථ්‍යා කථා වලින් පිරීගිය ඉතිහාසයක් ඇති ලොව දීර්ඝතම වාර්තාගත ශිෂ්ටාචාරවලින් එකක් ඉන්දියාව සතුව තිබුණි. ක්‍රි.පූ. 2500 තරම් ඓතිහාසික නටබුන් ඉන්දු නිම්නයේ දියුණු ශිෂ්ඨාචාරයක් පිළිබඳ සාක්ෂි සපයයි. හරප්පා සහ මොහෙන්ජෝ-ඩාරෝ මෙම ශිෂ්ටාචාර වල ප්‍රධාන නගර වශයෙන් හදුනාගෙන ඇත. මෙම කලාප දෙකෙහි ජීවත් වූ අය මෙසපොතේමියානු සම්භවයක් ඇති අය බවට විශ්වාස කෙරෙයි. පුරාවිද්‍යාත්මක සොයාගැනීම් වලට අනුව හරප්පා හි හමුවූ සමහර මුද්‍රා වලින් ඔවුන්ගේ ආගම පිළිබඳ යම් හෝඩුවාවන් ලබා දෙයි. යෝගී ඉරියව්වක් සහිත රූපයක්, කොළයක් සහිත පැළයක්, ගවයෙක්, අලියෙක් හා කොටියෙකු එම මුද්‍රා වල තිබී හමු වූ රූප අතර සමහරක්ය. ඒ හා සමාන පින්තූර සමග මුද්‍රාවන් ලෝකයේ වෙනත් තැනකින් සොයාගෙන නොමැති බැවින්, විශේෂයෙන්ම යෝගී රූපය අගනා සොයා ගැනීමක් ලෙස සැලකෙයි.

ප්‍රශ්නය: එම අවිදියේදී මිනිසුන් අනුගමනය කළේ හින්දු ආගමද?

පිළිතුර: නැත. හින්දු ආගම එකල නොතිබුණි. මූලික වශයෙන් කෘෂිකාර්මික අය වීම නිසා ඔවුන් විසින් වන්දනාමාන කරන ලද දෙවිවරුන් කෘෂි පලදා සහ සශ්‍රීකත්වයට සම්බන්ධ දෙවියන්ය. ක්‍රි.පු. 1700 වලදී ආර්යයන් නමින් හැදුන්වූ ආක්‍රමනකාරී මිනිස් රැල්ලක් ඉන්දු නිම්න ශිෂ්ටාචාරය විනාශ කළ අතර මෙම ආක්‍රමණිකයන් තමන් පිලිපැදි ආගමද ගෙන ආහ. ඔවුන් අශ්වයන්, අශ්ව රථ සහ කඩු භාවිතා කිරීමේ ප්‍රවීණයන් වූ අතර ඔවුන්ගේ ආධිපත්‍යයට ප්‍රධාන සාධකය වුයේ එම දක්ෂතාවයන්ය. ආර්ය ආක්‍රමණය ඉන්දියාවේ පැවති මුල් ආගම්වලට බෙහෙවින්ම බලපෑ අතර එහි ප්‍රතිඵලයක් වශයෙන් නව මාදිලියේ දෙවිවරුන් හා මිශ්‍ර විශ්වාස පද්ධතියක් ඉන්දියාව තුල ඇති කළේය. පුනරුත්පත්තිය හා කර්මය පිළිබඳ සංකල්ප ආර්යන්ගේ ආක්‍රමනයට පූර්ව ඉන්දියාවේ තිබුණු විශ්වාසයන්ය.

චාරිත්‍රානුකූලව තම දෙවිවරුන් යැදීම් සහ විවිධ පූජා හරහා බොහෝ දේවල් ලබාගැනීමට ආර්යයන්ට විශේෂ කුසලතා ඇති බව පෙනෙන්නට තිබුණි. දෙවිවරුන් හැසිරවීමට මොවුන්ට තිබූ මෙම හැකියාව නිසා මිනිසුන් දෙවිවරුන්ට වඩා උසස්ය යන අදහස මේ කාලයේදී ප්‍රචලිත විය. මෙම ඓතිහාසික අදහස මිශ්‍ර ස්වරූපවලින් ඉන්දියාවේ විවිධ ප්‍රදේශවල සහ නැගෙනහිර රටවල අදටත් අදහන ආගම්වල තවමත් පවතී. මෙය බටහිර රටවල කිසි විටෙක දක්නට නොලැබුණු නව අදහසකි.

හින්දු ශික්ෂා පද උච්චාරණය කරන ගීතිකා එකතුවක් ලෙස නියෝජනය වන “වේදන්ත” සංකල්ප වල මූලාරම්භය ක්‍රි.පූ 800 දී පමණ සිදුවුයේය. මෙම සංකල්ප හින්දු ආගමේ මුල් ආරම්බය ලෙසට සැලකෙන අතර පසුකාලීන ඉතිහාසයේ විවිධ ස්ථාවරයන් නූතන හින්දු ආගම විසින් ඒකාබද්ධ කරන ලදැයි යන මතයක්ද තිබේ. සිදුහත් කුමරුගේ උපත සිදුවූයේ හින්දු ආගම ආරම්භ වී අවුරුදු 300 කට පමන පසුවය.

වේදයන්හි අර්ථ දක්වා ඇති එක් ප්‍රධාන සමාජ ලක්ෂණයක් වූයේ ඉන්දියාවේ තවමත් පවතින කුල වර්ගීකරණ ක්‍රමයයි. මෙම ක්‍රමය මගින් සියලූ ජනයා කුල ක්‍රමයකට වර්ග කර ඇත. මෙහි ප්‍රධාන කුලයන් අනු පිලිවලින් බ්‍රාහ්මණ (පූජකවරු), ක්ෂත්‍රිය (වංශවත් පාලක), වෛශ්‍ය (ශිල්පී සහ වෙළඳුන්) සහ ශුද්‍ර (කම්කරුවන්) නම් වේ. සියලු කුලවල ජනයාට පොදු ලෙස අනුමත වී තිබුණේ වේදයේ සඳහන් ආගමික ධර්ම විශ්වාස කිරීමට සහ අනුගමනය කිරීමට තිබු නිදහසයි. සිදුහත් කුමරු උපතින් ක්ෂත්‍රිය කුල ධාරයෙකු විය.

ප්‍රශ්නය: හින්දු ආගමේ බලපෑම් සිදුහත් කුමරු කෙරෙහි කල බලපෑම් ඔබ දකින්නේ කෙසේද?

පිළිතුර: වර්තමාන හින්දු ධර්මයත් බුදුන්ගේ කාලයේ පැවති හින්දු ආගමේ ස්ථාවරයන් අතර යම් වෙනස්කම් ඇත. කෙසේ වෙතත්, වේදය පදනම් වූ හින්දු ධර්මය ජීවිත ගමනේදි පිළිපැදිය යුතු අදියරයන් හතරක් උගන්වයි. මේවා පහත සඳහන් වේ.

1. ශිෂ්‍ය
2. ගෘහමූලික
3. විශ්‍රාමික
4. තපස්

විශේෂයෙන් මෙම ජීවිත අදීර අනුගමනය කලේ බ්‍රාහ්මණ කුලයට අයත් අය වූ අතර එම කුලයට අයත් බොහෝ අය අදටත් මෙම පිළිවෙත් දැඩි ලෙස පිළිපදී.

මෙම නීතිවේද වලට අනුව බ්‍රාහ්මණ කුලයට අයත් අය මැදි වියට එළඹුණු පසුව තපස් අවධිය අනුගමනය කරයි. ඔවුන්ගේ පවුලකට පුත්‍රයෙකු උපත ලැබුවහොත්, එම උපත පියාගෙන් පවුලට ඇති වගකීම අවසන් වීමේ සලකුණක් ලෙස සැලකීම සිරිතක් විය. මෙහිදී පියා, තම පුතා වැඩුනු විට තමාගේ ගෘහ වගකීම භාර ගන්නා කෙනෙක් හැටියට උපකල්පනය කරයි. හින්දු ධර්ම ග්‍රන්ථයන්හි මෙය සැසඳෙන්නේ කපා දමන ලද ගසක කඳකින් හටගන්නා නව අංකුරයක් ක්‍රමයෙන් සම්පූර්ණයෙන් වැඩෙන ගසක් බවට පරිවර්තනය වන අන්දමටයි.

තපස් ජීවනාලියක් අනුගමනය කිරීමෙන් හින්දු ධර්මයේ අරමුණ වුයේ ගෘහ ජීවිතය ප්‍රතික්ෂේප කිරීම සහ උසස් දෘෂ්ටිකෝණයකින් බලා අධ්‍යාත්මික ජීවිත ලක්ෂණ සාක්ෂාත් කර ගැනීමයි. බුදුරජාණන් වහන්සේගේ කාලයේ හුදෙක් බ්‍රාහ්මණ කුලයේ ජනයා විසින් අනුගමනය කරන ලද සම්ප්‍රදාය වූයේ මෙයයි. තපස් ජීවිතයේ අවසාන කාලයේදී, ගුරුවරුකු හෝ උපදේශකයෙකු

ලෙස ඔවුන් අවබෝධ ගත් දේ ආපසු ලබා දීමෙන් සමාජයට සේවයක් සිදු කරයි. සියලු තපස් ජීවත ගත කල අය මහළු අයම නොවේ. බෞද්ධ ග්‍රන්ථවලින් තරුණ තාපස අයද සිටි බව අපි දනිමු. උපදේශකයෙකු ලෙස සුද්ධෝදන රජුට සේවය කල කොණ්ඩඤ්ඤ තවුසාද ඉතා තරුණ හා බුද්ධිමත් තපස් කෙනෙකි.

ප්‍රශ්නය: ඔබ උත්සහ කරන්නේ සිද්ධාර්ථ කුමරුගේ ගෘහ ජීවිතය අත්හැරීමට වෛදීය ඉගැන්වීම් ඔහුට බලපෑම් කර ඇති බවද?
පිලිතුර: සංසන්දනාත්මක මිථ්‍යා කථා හා ආගම පිළිබඳ විශාරදයකු වූ ඇමරිකානු මහාචාර්ය ජෝසප් කැම්බල් මහතාගේ කෘතිවල මෙම මතය සඳහන් කර තිබේ. සිදුහත් කුමරු බ්‍රාහ්මණ කුලයට වඩා වෙනස් වූ ක්ෂත්‍රිය කුලයට උපත ලැබුවද, රාහුල කුමරු ඉපදුණු රාත්‍රියේදීම වෛදීය චාරිත්‍ර ක්‍රම වල සඳහන් පරිදි ඔහු ගෘහ ජීවිතය අත්හැරීමට කැපවීමෙන් කටයුතු කළ පුද්ගලයෙකුදැයි සැලකීමට හැකියාවක් ඇතිබව ඔහුගේ හැඟීමයි.

ප්‍රශ්නය: සිදුහත් කුමරා ගෘහ ජීවිතය අත්හැරීම ගැන බෞද්ධ ග්‍රන්ථවල සඳහන්වන්නේ කුමක්ද?
පිලිතුර: ගෘහ ජීවිතය අත්හැරීමට දෙවිවරුන් විසින් කුමරුට බලපෑම් කළ බවටත්, පැවිදි වීමට උපකාර කළ ආකාරය ඇතුළු තවත් මිථ්‍යා කථා රාශියක් සඳහන් වේ. කුමරා තම රාජකීය ඇඳුම සහ ආභරණ අතහැර දමා තපස් බවට පත්වන මොහොතේදී දෙවිවරුන් විසින් සිවුරු ලබා දුන් බවට ප්‍රකාශ වේ. බුද්ධිමත් පුද්ගලයකු වූ සිදුහත් කුමරුට පැහැදිලිවම තමන්ට අවශ්‍ය සිවුරුවලට අමතරව තම අනාගත ගමන සඳහා සූදානම් වීමට දුරදර්ශී සැලැස්මක් තිබෙන්නට ඇතැයි සැලකීම යෝග්‍යයයි මම සිතමි.

ප්‍රශ්නය: දෙවිවරු සිවුරු ගෙනත් දීම විශ්වාස කිරීම විවෘත මනසකට අපහසු කාර්යයක්. සිදුහත් කුමරු සිවුරු දරා තපස් බවට පත් වූ පසු සිදු වූයේ කුමක්ද? පිළිතුර: සිද්ධාර්ථ තාපසතුමා එවකට සිටි කීර්තිමත් අධ්‍යාත්මික වර්ධන පුහුණු ගුරුවරුන් දෙදෙනකු වූ ආලාරකාලාම යටතේ පලමුවත්, ඊට පසුව උද්දක රාමපුත්‍ර වෙතිනුත් ඔහුන් දන්නා සෑම දෙයක්ම අධ්‍යයන කරන ලදී. බුද්ධිමත් පුද්ගලයෙකු වශයෙන්, ගිහිගෙයින් නික්ම වූ පසු හිස හැරුනු දෙසකට නොගොස් සැතපුම් 350 ගෙවා මොහුන්ගෙන් ඉගනීමට කල්තියාම සැලසුම් කරන්නට ඇතැයි අපට සිතිය හැකිය. මේ සඳහා හිතවත් චන්න ඇමැතිගෙන් සහාය ලැබෙන්නට ඇතැයිද අපට අනුමාන කල හැක.

මෙම ගුරුවරුන් දෙදෙනා තමන් ප්‍රවීණව අනුගමනය කළ විවිධ දාර්ශනික සහ ප්‍රායෝගික දැනීම් සිද්ධාර්ථ තවුසාට ඉගැන්විය. කෙසේ වෙතත්, ඔවුන්ගේ දර්ශන හා ක්‍රමවේද ප්‍රගුණ කිරීමෙන් පසුව, සිද්ධාර්ථ තවුසාට ඒත්තු ගියේ එම ධර්මයන් තමාට තිබූ දැවැන්ත අධ්‍යාත්මික අපේක්ෂාවන් සංසිඳීවීමට ප්‍රමාණවත් නොවන බවයි.

මෙයින් පසු ඔහුගේ අභ්‍යන්තර ගවේෂණය තමන් විසින්ම කිරීමට තීරණය කළේය. මෙම අවස්ථාවේදී, ඔහුගේ පියා වන සුද්ධෝදන රජු මෙන්ම ඔහුගේ මාමණ්ඩිය වූ සුප්‍රබුද්ධ රජතුමාද ඔහුට සහයෝගය දීම සඳහා තපසුන් පස්දෙනා බැගින් යවා ඇත. තම පියා විසින් එවීන ලද පස්දෙනා තබා ගැනීමට සිද්ධාර්ථ තවුසා තීරණය කළේය. අපේ සාකච්චාවට පහසුව සඳහා මොවුන් "පස්වග මහණුන්" ලෙස මීට පසුව හඳුන්වමු. කවදා හෝ දිනක සිදුහත් කුමරා බුදුන් බවට පත්වනු ඇතැයි පුරෝකථනය කළ කොණ්ඩඤ්ඤ තවුසාද මේ පස් දෙනාගෙන් කෙනෙකි. අනිත් අය භද්දිය, වප්ප, මහානාම සහ අස්සජි නම් විය.

පස්වග මහණුන්ගේ සහායද ඇතිව, තපස් සිද්ධාර්ථ පලමුව තම ගවේෂණ හා පර්යේෂණයන් වශයෙන් දැඩි දුශ්කර ක්‍රියා මාර්ග වල නිරත විය. එහි ප්‍රතිවිපාකයක් වශයෙන් එක් අවස්ථාවකදී අවට සිටි අය සිතුවේ ඔහු මිය ගොස් ඇති බවය. එම අවස්ථාවේදී, මෙම පුවත සැතපුම් 350 පමන දුර කපිලවස්තුපුරයේ සිටි ඔහුගේ පියාට පණිවිඩකරුවෙකු මගින් දැනුම් දීය. සුද්ධෝදන රජුට තම පුතා කෙරෙහි තිබූ ඉහළ අපෙක්ෂාවන් නිසා, කිසි දිනක බුදුන් බවට පත් නොවී තම පුතා මිය නොයන බව එම පණිවිඩකරුවාට ඔහු පවසා ඇත. බෞද්ධ ග්‍රන්ථවල සඳහන් වන්නේ මෙම තොරතුරු රජුට සැපවුයේ දේවපුත්‍රයෙකු මාර්ගයෙන් බවයි. එකල ඉලෙක්ට්‍රොනික සන්නිවේදන පද්ධති නොතිබුණද, අනිවාර්යයෙන්ම රජුට තම පුතා පිළිබඳ විධිමත් තොරතුරු ලබා ගැනීම සඳහා පණිවුඩ සේවාවක් තිබෙන්නට ඇති බවත් දේවපුත්‍රයාගේ කථාව තවත් මිථ්‍යාමය සටහනක් ලෙසත් සැලකීම අප සාකච්ඡාවට ඔබින බවත් මට සිතේ.

ප්‍රශ්නය: බුදුන්වහන්සේගේ ජීවිත කතාවේ ඊළඟ සිදුවීම කුමක්ද?
පිළිතුර: අවුරුදු හයක පමන දුෂ්කර ක්‍රියාවලියන්ගෙන් පසු සිද්ධාර්ථ තවුසා තේරුම් ගන්නේ තමා සොයන දේ සොයා ගැනීමට එම පිලිවෙත උදව් නොවන බවයි. එම අවබෝධයත් සමඟ ඔහු දුෂ්කරක්‍රියා අතහැර දමා මධ්‍යස්ථ ප්‍රතිපත්තියක් අනුගමනය කිරීමට එළඹෙයි. එය "මැද මාවත" ලෙස ධර්මයේ හැඳින්වෙයි.

ප්‍රශ්නය: සිද්ධාර්ථ තවුසා භාවනාවට යොමු වූයේ ඇයි? මානසික අභ්‍යන්තරය සෙවීම සඳහා වෙනත් ක්‍රම නොමැතිද?
පිළිතුර: භාවනා කිරීම හින්දු ආගමෙන් පැමිණි සම්ප්‍රදායකි. හින්දු ඉගැන්වීම් යටතේ ඇති විවිධ යෝග පිළිවෙත් අභ්‍යන්තරය ගවේෂණය කිරීමට අවශ්‍ය භාවනා පියවරවල් පැහැදිලි කරයි. එබැවින්, මෙම මුල්බැසගත් අදහස් තමාගේ අධ්‍යාත්මික ගවේෂණයට යොග්‍යය වන්නට ඇතැයි සිද්ධාර්ථ

තවුසාට ඒත්තු යන්නට ඇත. කෙසේ නමුත් ඒ ගැන විවෘත මනසකින් බලන විට අපගේ මනසෙහි අභ්‍යන්තර ක්‍රියාකාරිත්වය පිළිබඳව විමසිලිමත්ව ගවේෂණය කිරීමට නම්, භාවනා ක්‍රමවල නිර්දේෂ කර ඇති පරිදි නිස්කලංක ස්ථානයක සුවපහසු අන්දමකට අසුන්ගෙන චින්තන ක්‍රියාවලිය නිහඬව විශ්ලේෂණය කිරීම හුදෙක් යෝග්‍ය පිලිවෙතක් බව පැහැදිලිව පෙනීයයි. මානසික අභ්‍යන්තර සෙවීම සඳහා වෙනත් ක්‍රම තිබේද යන්න පිළිබඳ ඔබ ඇසූ දෙවන ප්‍රශ්නයට අදාළව බුදුන්වහන්සේ වදාළ දේ අපි පසුව ගවේෂණය කරමු.

ප්‍රශ්නය: සිද්ධාර්ථ තවුසා අනුගමනය කරමින් සිටි දුෂ්කරක්‍රියා අත්හැරීමෙන් පසු සිදු වූයේ කුමක්ද?
පිළිතුර: පළමුවෙන්ම, ඔහු සමඟ ඇසුරු කළ පස්වග මහණුන් තීරණය කළේ ඔහු සමඟ තවදුරටත් රැඳී සිටීමෙන් පලක් නැති බවයි. එමනිසා, ඔවුන් වහාම සිද්ධාර්ථ තවුසා අත්හැර ගියේය. කවදා හෝ සිදුහත් කුමාරු බුදුන් බවට පත්වනු ඇතැයි පුරෝකථනය කළ බුද්ධිමත්ම පුද්ගලයාවූ කොණ්ඩඤ්ඤ තවුසා පවා අනෙක් හතරදෙනාට එකතු විය. ඔවුන් පස්දෙනා යනු ලැබුවේ සිද්ධාර්ථ තවුසා සිටි බුද්ධගයා නගරයේ සිට සැතපුම් 140 ක් පමණ බටහිරින් පිහිටි ඉන්දියාවේ උත්තර් ප්‍රාන්තයේ පිහිටි ඉසිපතන නගරයටය.

ප්‍රශ්නය: ඔවුන් එම ස්ථාවරය ගත්තේ ඇයි?
පිළිතුර: ඔබේ ප්‍රශ්නයට පිළිතුර සොයා ගැනීම සඳහා එම තපසුන් පස් දෙනා පොදුවේ එල්බගෙන තිබූ විශ්වාස අපි තේරුම් ගත යුතුයි. ඔවුන් බ්‍රාහ්මණ කුලයට අයත් අයයි. එබැවින් ඔවුන් එකල පැවති හින්දු ඇදහිලිවල ප්‍රබල අනුගාමිකයන් විය යුතුයැයි අපට සිතිය හැක. ළදරු කුමාරයා යම්දිනක රජකෙනෙකු නොවන බවත්, නියත වශයෙන්ම උත්තරීතර ආගමික නායකයෙකු වනු බව කොණ්ඩඤ්ඤ තවුසා ප්‍රකාශ කිරීමෙන් ඔහු අදහස් කළේ, කවදා හෝ සිදුහත්කුමාරු හින්දු ආගමේ විශ්වාස කළ පරිදි උත්තරීතර "මෝක්ෂය" අත්පත් කර ගන්නා බවයි. මෝක්ෂය අර්ථ දැක්වෙන්නේ ජීවන

චක්‍රයෙන් මිදීම සහ අවසානයේ මරණින් පසු තමාගේ ආත්මය විශ්ව ශක්තියට සංයෝජනය වීමයි. විශ්ව ශක්තිය විශ්වයේ ඇති සෑම දෙයක්ම බිහිවීමට හේතු වූ මුල් ශක්ති ප්‍රභවය ලෙස හින්දු ධර්මයේ අර්ථ දැක්වේ. හින්දු ආගම අනුගාමිකයන්ට අධ්‍යාත්මික ගවේෂණය කිරීම දිරිමත් කරන අතර එහි අවබෝධයේ අවසාන තත්වය වන මෝක්ෂය සාක්ෂාත් කර ගැනීමට මඟ පෙන්වයි. මෙම ඉලක්කය සපුරා ගැනීම සඳහා බොහෝ අය අනුගමනය කළ පොදු පුරුද්දක් වූයේ වේදනාකාරී හැඟීම් අත්විඳීමට ශරීරය ලක් කිරීමයි. එමනිසා, සිද්ධාර්ථ තවුසා දැඩි වේදනාකාරී ක්‍රමවේදයන් අනුගමනය කරන විට, ඔවුන් පස්දෙනා බලාපොරොත්තු වූයේ එම ක්‍රියාවලිය ඔහුට මෝක්ෂය අත්පත්කර ගැනීමට උපකාරී වනු ඇති බවයි. නමුත් තපස් කුමාරයා මෙම ක්‍රමවේදයන් අත්හැර දැමූ හෙයින්, පස්වග මහනුන් ඔහු කෙරෙහි තිබූ විශ්වාසය මුළුමනින්ම නැති වී ගිය හේතුවෙන් ඔහුට තවදුරටත් සහාය දීමෙන් ඵලයක් නැතැයි සිතන්නට ඇති බව, මේ ගැන හේතු දක්වන පොදු මතයයි.

ප්‍රශ්නය: මැද මාවත පිළිබැඳීම සිද්ධාර්ථ තවුසාට අවශ්‍ය ප්‍රතිඵල ලබා දුන්නාද?
පිළිතුර: ඇත්තෙන්ම ඔව්. ඔහු මාස දොළහකට ආසන්න කාලයක් ඔහුගේ ක්‍රමවේදය අනුගමනය කළේය. ග්‍රන්ථවල සඳහන් අන්දමට, මෙම කාලපරිච්ඡේදයේ අවසාන කාලයේදී දිනක් ගමේ ප්‍රධානියෙකුගේ දියණියක්, සිද්ධාර්ථ තවුසාට ආහාර වේලක් පූජා කළේ ය. මෙම රසවත් ආහාරය ගැනීමෙන් පසු ඔහු තම හිස් පාත්‍රය අසල තිබූ ගඟට ගෙන ගොස් ගඟේ ජලය මත තැබීය. පාත්‍රය ඉවතට පාවී යාමට පෙර ඔහු පැතුමක් කළේය. ඔහු බුද්ධත්වය ලබාගන්නේ නම් පාත්‍ර ගඟේ ඉහළට පාවෙනු ඇතැයිද එසේ නොවන්නේ නම් එය පහලට බැස යනු ඇතැයිද යන්න එම පැතුමයි. පුදුමයට මෙන් පාත්‍රය ඉහළට පාවී ගොස් ගල් පර්වතයක වැදී ගිලී ගියේය.

ප්‍රශ්නය: ඔබ මෙහි කීමට ඉඟි කරන්නේ කුමක්ද?

පිළිතුර: කරුණු දෙකක්. පළමුවැන්න නම්, එයින් පෙනී යන්නේ, තපස් කුමාරයාටත් එවැනි මිථ්‍යාදෘෂ්ටික අදහස් එවකටත් තිබූ බවය. එවකට ඔහු බුද්ධත්වයට පත්වී නොසිටි නිසා එවැනි අදහස් තිබෙන්නට ඇතැයි අපට සිතන්නට පුළුවන. දෙවන කාරණය නම් ගමේ ප්‍රධානියාගේ දියණිය හමුවීමයි. එයින් පෙනී යන්නේ, බුදුන්වහන්සේගේ ජීවිත කතාවේ බොහෝ දෙනා දර්ශනය කරන මහා වනාන්තර සහගත පරිසරයකට වඩා, තපස් කුමරු වාසය කළ ස්ථානය ජනවාසකයට නුදුරු බවයි.

### බුද්ධත්වය සහ ප්‍රථම දේශනය

ප්‍රශ්නය: සිද්ධාර්ථ තවුසා තමාගේ පැතුමේ ප්‍රතිඵලයෙන් පෙන්නුම් කල පරිදි බුද්ධත්වයට පත්වුනාද?

පිළිතුර: ඔව්. එදින පුර පසළොස්වක් දවසක් වූ අතර එම රාත්‍රියේදී සිද්ධාර්ථ තවුසා බුද්ධත්වයට පත් වෙයි.

ප්‍රශ්නය: බුද්ධත්වයට පසුව සිදු වූ සිදුවීම් මොනවාද? මෙම ඉතිහාසික සිදුවීම් වාර්තා කළේ කවුද?

පිළිතුර: බුදුන්වහන්සේ බුද්ධත්වයට පත්වූවාට පසු, ඔහුට සෙවන දුන් බෝ ගසට යාබදව සති හතක කාලයක් නොයෙක් ක්‍රියාවන් වල නිරත වූ බව ත්‍රිපිටකයේ සඳහන් වේ. මෙම ක්‍රියාවන් සහ සිදුවීම් ගැන සියලු විස්තර කර ඇත්තේ වෙන කිසිවකු නොව බුදුන්වහන්සේ විසින්ම බව දැන ගත යුතුයි. බුදුන්වහන්සේ දේශනා කල **ආර්‍යපරියේෂන සූත්‍රයේ** මේ සියලු විස්තර අඩංගුවේ. ආර්‍යපරියේෂන සූත්‍රය දේශනා කර ඇත්තේ භික්ෂු සාසනය පිහිටුවා වසර කිහිපයකට පසු විශාඛා මහාදේවිය නම් ඉතා ප්‍රසිද්ධ වංශාධිපති කාන්තා ශ්‍රාවිකාවකටය. මේ නිසා සූත්‍රයේ ඇති දෑ කුමන කාලයකදී දේශනා කළද යන්න ගැන අප විශේෂයෙන් අවධානය කළ යුතුය. බොහෝ බෞද්ධයන්

මෙම සූත්‍රය බුදුන්ගේ පළමු දේශනය ලෙස වැරදියට උපකල්පනය කරන්නට හේතු වී ඇත. මෙයට හේතු වී ඇත්තේ මෙහි ඇති දෑ බුදුන්ගේ පලමු සූත්‍ර දේශනාව වන **ධම්මචක්කප්පවත්තන සූත්‍ර** දේශනාවට තුඩු දෙන කතාවෙහි මුල් කොටසට තොරතුරු සපයන නිසාය.

### පළමු දේශනය - ධම්මචක්කප්පවත්තන සූත්‍රය

ප්‍රශ්නය: බුදුන්වහන්සේ සිය පළමු දේශනය වන ධම්මචක්කප්පවත්තන සූත්‍රය කිරීමට හේතු වූයේ කුමක්දැයි ඔබට පැහැදිලි කළ හැකිද?
පිළිතුර: අවුරුදු හතක පමන දීර්ඝ පර්යේෂණයකින් පසුව ඔහු සොයමින් සිටි දැනුම අත්කර ගැනීම ගැන බුදුන්වහන්සේ කොතරම් සැනසීමකට පත්වෙන්නට ඇතිද යන්න තේරුම් ගැනීම වැදගත්ය. එම විශේෂ දැනුම, විද්‍යාඥයෙකු තමන්ගේ සොයාගැනීම් ලෝකයාට විකාශනය කිරීමට හා සමානව, බුද්ධත්වය යනු කුමක්දැයි ලොවට හෙළි කිරීමට බුදුන්වහන්සේට පෙලඹීමක් තිබෙන්නට ඇති බවත් ඒ සඳහා සූදානම් වීමක් වුවායැයි අපට උපකල්පනය කල හැක.

ප්‍රශ්නය: සූදානම් උනේයැයි ඔබ අදහස් කරන්නේ කුමක්ද?
පිළිතුර: **ආර්‍යපරියේෂන සූත්‍රය** බුදුන් දේශනා කලේ බුද්ධත්වයෙන් අවුරුදු කීපයකට පසුව වුවද එහි අඩන්ගු දෑ බුද්ධත්වය ලැබුණු විගස බුදුන්වහන්සේ කුමක් කලේද සහ ඉන් මතුවට කිරීමට අදහස් කළේ කුමක්ද යන්න සම්බන්ධ තොරතුරු රාෂියක් සඳහන් වී ඇත. මෙම සූත්‍රයට අනුව, බුද්ධත්වයට පත්වීමෙන් පසු බුදුන්වහන්සේ තම සොයාගැනීම අනෙක් අයට ඉගැන්වීමට අපේක්ෂා කර ඇත. නමුත් පළමුව, බුදුන්වහන්සේට අදහස් වූයේ ඔහු සොයාගත් උසස්, සියුම්, ගැඹුරු, සත්‍යය සහ සංකීර්ණ ධර්මය අන් අයට තේරුම් ගැනීමට අපහසු බවය. මෙම සිතුවිල්ල පදනම්ව, මුලදී බුදුන් සොයාගත් ධර්මය අන් අයට හෙළි කිරීමට පසුබට වී ඇත.

කෙසේ වෙතත්, බුදුන්වහන්සේ මේ පිළිබඳව තවදුරටත් කල්පනා කරමින් සිටියදී අසල පිහිටි නෙළුම් පොකුණ ඔහුගේ දර්ශනයට ගෝචර වේ. මෙහිදී බුදුන්වහන්සේ ලෝකයේ සිටින මිනිසුන් නෙළුම් පොකුණේ සිදුවෙමින් පවතින දේ සමඟ සසඳා බැලීමක් සිදුකරනු ලබයි. පොකුණේදී නෙළුම් පොහොට්ටු කිහිපයක් ජලපත්ලේ යටම තිබෙන බවත්, තවත් සමහර පොහොට්ටු ජල මට්ටමටම නැඟී සිට ඇති බවත්, තවත් සමහරක් වතුරට ඉහළට විත් නෙළුම් මල් ලෙස බැබලෙන බවත්, බුදුන්ට දර්ශනය වෙයි. මේ හා සමානව ලෝකයේ විවිධ බුද්ධි මට්ටම්වල පුද්ගලයන් සිටින බව බුදුන්වහන්සේට ඒත්තු යයි. මේ හා සමානව සමහර පුද්ගලයින්ට තමා සොයාගත් දේ උපරිමයෙන් තේරුම් ගැනීමට හැකි වනු ඇති බවත්, සමහරු තම සවයං උත්සාහය මගින් දෙසූ ධර්මය තේරුම් ගනු ඇති බවත්, තවත් සමහරු එසේ කිරීමට නොහැකි වනු බවත් බුදුන්වහන්සේ උපකල්පනය කරයි.

මෙම තාර්කික විශ්ලේෂණය බුදුන් වහන්සේට තම ධර්මය අන්අයට දේශනා කිරීමේ තීරණයට පදනම වෙයි. බුදුන්වහන්සේ ධර්මය ඉගැන්වීමට තීරණය කළේ මන්ද යන්න පිළිබඳව තිබෙන අනුවාදයකට අනුව, සහම්පති නම් බ්‍රහ්ම පුත්‍රයෙක් සම්බන්ධ වී ඇති අතර චකිතයකින් සිටි බුදුන්ගේ මනස ඔහුට දැනගැනීමට හැකිවීමෙන් පසුව ඔහු ලෝකයාට ධර්මය දේශනාකරනමෙන් බුදුන්වහන්සේට ආයාචනය කර ඇති බව සඳහනක් වේ. තමා සොයාගත් ධර්මය ඉගැන්වීම ගැන තීරණයක් ගැනීමට විශේෂයෙන්ම පිටසක්වලක සිටි කෙනෙක්ගෙන් බුදුන්ට උදව් අවශ්‍ය වූයේයැයි, සිතීමද බුදුන්ට කරන අපහාසයක් නොවේද?

ප්‍රශ්නය: තමන් සොයාගත්දෑ නිසැකවම අනිත් අයට දේශනා කරන බවටත්, එම ධර්ම ප්‍රකාශයන් නිසැකවම සාර්ථක වනු ඇතැයි අනාවැකි කීමේ බලයක් බුදුන්වහන්සේට නොතිබුනේද?

පිළිතුර: බෞද්ධ භක්තිකයන් සාමාන්‍යයෙන් විශ්වාස කරන්නේ අන්‍යයන්ගේ මනස් කියවීමේ හැකියාව, අනාගතය ගැන පුරෝකථනය කිරීමේ හැකියාව, අහසින් යැම ආදී අසාමාන්‍ය අතිමහත් බල සම්භාරයක් බුදුන්වහන්සේ සතුව තිබූ බවයි. බුදුන්වහන්සේට එවැනි මානසික බලයක් තිබුනේ නම්, ධර්මය ඉගැන්වීම් පිළිබඳව තීරණයක් ගැනීමට ඉහත සඳහන් අන්දමට තාර්කික විශ්ලේෂණයක් කිරීමට අවශ්‍ය නොවනු ඇත. බුදුන්වහන්සේගේ ජීවිත කාලය තුළ සහ ඊට පසු කාලීනව ලොව පුරා දහස් ගණනින් අනුගාමිකයන් සිටින බව අපි දනිමු. නමුත් බුදුන්වහන්සේ ඒ කිසිවක් ගැන දැනුමක් තිබුනේ නම් ධර්මය ප්‍රචාරය කිරීම ගැන පලමුව චකිතයක් ඇතිවීමට කිසිම හේතුවක් නැත. බුදුන්වහන්සේ තම ධර්මය ඉගැන්වීමට ගත් තීරණය හුදෙක්ම ඉහත සඳහන් තාර්කික විශ්ලේෂණයන් මත පදනම් විය. අවුරුදු 45 ක් පුරා පැවති බුදුන්වහන්සේගේ ඉගැන්වීම් පුරාම උන්වහන්සේ තාර්කික චින්තනයේ සහ තාර්කිකත්වයේ වැදගත්කම අවධාරණය කළ අතර මිථ්‍යා විශ්වාසයන්ට නැඹුරු නොවන ලෙස තම අනුගාමිකයන්ට දුන් පොදු උපදෙස් විය.

ප්‍රශ්නය: බුදුරජාණන් වහන්සේ සිය පළමු දේශනය කළේ කා හටද?

පිළිතුර: **ආර්‍යපරියේෂන සූත්‍රයට** අනුව, මේ සඳහා බුදුරජාණන් වහන්සේ තම ආර්ය ගමන ආරම්භයේ දී ඔහුට උපකාර කළ ගුරුවරුන් දෙදෙනා වූ අලාර කාලාම සහ උද්දක රාමපුත්‍ර වැනි බුද්ධිමත් පුද්ගලයන් පලමුව සැලකිල්ලට භාජනය කර ඇත. නමුත් ආලාර කාලාම සතියකට පෙරත් සහ උද්දක රාමපුත්‍ර දිනකට පෙරත් අභාවප්‍රාප්ත වී ඇතිබව දැනගෙන ඇත. ඉන්පසුව බුදුන්වහන්සේ අතහැර ගිය පස්වග මහනුන්ට ධර්මය දේශනා කිරීමට තීරණය කළේය. ඔවුන් සිටියේ උරුවෙලාවේ සිට සැතපුම් 140 ක් පමණ බටහිර දෙසින් වූ උත්තර් ප්‍රාන්තයේ පිහිටි ඉසිපතන නගරයේය. ඔවුන් හමුවීම සඳහා බුදුන්වහන්සේ දිගු පා ගමනක යෙදුනු අතර එයට සතියක් පමණ ගත විය.

ප්‍රශ්නය: පස්වග මහනුන් බුදුන්වහන්සේ පිළිගත්තේ කෙසේද?

පිළිතුර: බුදුන්වහන්සේ දුරසිටම එන දුටු පස්වග මහනුන් ඔහු පැමිනි පසු විධිමත් ආගන්තුක සත්කාර නොකර සිටීමට තීරණය කළේය. කෙසේ වෙතත්, බුදුන්වහන්සේ ඔවුන් වෙත ළඟා වෙත්ම, බුදුන් ගැන ඔවුන් තුළ ඇතිවූ ගෞරව හැඟීම් වලට එරෙහි වීමට ඔවුන්ට නොහැකි වූ අතර ඔවුන් සියලු විධිමත් ආගන්තුක සත්කාර කිරීමට සහභාගී වූහ. පසුව, බුදුන්වහන්සේ තමා ලබාගත් දැනීම ගැන පස්වග මහනුන්ට ඉගි කළ විට, ඔවුන් බුදුන්ගේ ප්‍රකාශ කෙරෙහි කිසි අවධානයක් යොමු කළේ නැත. එවිට බුදුන්වහන්සේ ඔවුන්ට අභියෝග කළේ අතීතයේ දී ඔහු එවැනි ප්‍රකාශයක් කියා ඇත්දැයි විමසීමෙනුයි. මෙහිදී බුදුන්වහන්සේට හෙළිදරව් කිරීමට වැදගත් යමක් ඇති බව පස්වග මහනුන්ට ඒත්තු ගියෙන් බුදුන්වහන්සේට සවන් දීමට එකඟ වෙයි.

බුදුරජාණන් වහන්සේට මෙම ගමන අහසින් කළ හැකි වුනා නම් එම ක්‍රියාව පමනක් උන්වහන්සේ ලබාගත් අද්වීතීය බලයක ශාක්ෂි හැටියට පස්වග මහනුන්ට පෙන්නුම් කිරීමට තිබූ බව නොවනුමානය. එවැනි හැකියාවක් නොතිබුන බව මෙයින් පෙනෙන්නට තිබුණද, බොහෝ බෞද්ධයන් අහසින් යෑම වැනි දෑ බුදුවරුන්ට හා අරහත් ඵලදාරීන්ට ආවේනිකවූ මූලික හැකියාවක් ලෙස සලකයි. බුදුරජාණන් වහන්සේ ඉන්දියාවේ සංචාරය කළ සියලු ස්ථාන පෙන්වන භූගෝලීය සිතියමක් අධ්‍යයනය කලහොත් ඒ සියලු ප්‍රදේශම ඇවිද යා හැකි දුරස් වලින් තිබෙන බව සනාත කරයි. මෙයට අමතරව තමන්හට එවැනි විශේෂ බලයන් නොමැති බව **සුසීම සූත්‍රයේ** සහ **සාරිපුත්‍ර සූත්‍රයේද** පැහැදිලිව සඳහන් කර ඇත.

## බුදුන්වහන්සේ චාරිකා කල ප්‍රධාන ස්ථාන පෙන්වන සිතියම




ප්‍රශ්නය: බුදුරජාණන් වහන්සේ මෙහිදී හෙළි කළ ධර්මය කුමක්ද?

පිළිතුර: එම ප්‍රශ්නයට පිළිතුරු දීමට පෙර, බුදුන්වහන්සේ ශාක්ෂාත් කල ධර්මය ගැන දේශනා කිරීමට තීරණය කිරීමෙන් පසුව, බුදුන්වහන්සේ ඒ ගැන සකස්වීම පිලිබදව යම් අවබෝධයක් ලබාගැනීමට අප උත්සාහ කළ යුතුයි. මා මේ සාකච්චාව මුලදී සදහන් කල පරිදි මෙය විද්‍යාඥයන් සම්ප්‍රදායිකව තමන්ගේ නව සොගැනීම් ඉදිරිපත් කිරීමේ අවස්ථාවකට සමානයි. එවැනි සම්ප්‍රදායක් ඒකාලේ තිබුනාද නැද්ද යන්න ගැන වාද කරනවාට වඩා එවැනි සමාන තත්වයකට බුදුන්වහන්සේට මුහුණු දීමට තිබෙන්නට ඇතැයි අපට අනුමාන කළ හැකියි. එම තත්වය යටතේ, “නිර්වාණය”, “සම්බුද්ධත්වය”, “නිවන” යනාදී වශයෙන් බෞද්ධ ත්‍රිපිටකයේ හදුන්වන බුදුන්වහන්සේ අත්පත් කරගත් ධර්මය හෙළි කිරීමේ මොහොත පැමිණ තිබූ හෙයින්, ඒ පිලිබදව බුදුන්වහන්සේද විශේෂ සැලකිල්ලක් දක්වන්නට ඇත.

බුදුන්වහන්සේ බෝ රුකට නොදුරුව සති හතක කාලයක් නොයෙකුත් ක්‍රියාවල යෙදී සිටිබව සදහන් වේ. උදාහරනයක් වශයෙන් බෞද්ධ ග්‍රන්ථවල මෙවැනි සදහන් ඇත. "තෙවැනි සතියේදී බුදුන්වහන්සේ තමන් වහන්සේ

බුද්ධත්වයට පත් වූවාද නැද්ද යන්න පිළිබඳව දෙව්ලොව සිටින දේවතාවන්ට නිසැක නොවන බව තම මනසින් දුටුවේය. බුදුන්වහන්සේ බුද්ධත්වය ඔප්පු කිරීම සඳහා අහසේ රන් පාලමක් නිර්මාණය කර සතියක් මුළුල්ලේම එහි ඉහළ පහළ ගමන් කළහ." මෙවැනි සඳහන් දෙවියන් විශ්වාසකරන බොහෝ බෞද්ධ අය සාදුකාරයකින් අශ්වාද විදීමට හේතුවුවත් විවෘත මනසකට එහි ගතයුත්තක් ඇති දැයි සැක සහිතය.

කෙසේ වෙතත් බුදුන්වහන්සේ බෝ රුක අවට ගත කළ සති හත තුළදී තමන් ඉදිරිපත් කිරීමට අදහස් කරන දේ ගැන සිතා බැලීමට ප්‍රමාණවත් කාලයක් තිබූ බව මගේ විශ්වාසයයි. වර්තමානයේ මෙන්, මෙවැනි ඉදිරිපත් කිරීමකට අවශ්‍ය තොරතුරු සංකලනය කිරීමට අවශ්‍ය ලිවීමේ පහසුකම් එකල නොතිබුණ නිසා දේශනා කළ යුතු සියලු කරුණු තෝරා බේරා ගැනීම, ව්‍යුහගත කිරීම සහ මතකයේ තබා ගැනීම පමනක් නොව එම දෑ සංස්කරණය කිරීමද සිදුකරන්නට ඇත්තේ මනස තුලමය.

බුදුන්වහන්සේ තමා සොයා ගත් ධර්මය සම්පීඩනය කොට දේශනා කලේ සූත්‍ර දෙකක් මගිනි. මෙම සූත්‍ර දෙක, **ධම්මචක්කප්පවත්තන සූත්‍රය සහ අනත්තලක්ඛන සූත්‍රය** නම් වේ. බුදුන්වහන්සේගේ ජීවිත කාලය තුළ දේශනා කරන ලද දහස් ගණන් සූත්‍ර අතුරින් ඉහත සූත්‍ර දෙක පළමු හා දෙවැන්න බවට පත්වීමේ වැදගත්කම අප තේරුම් ගත යුතුය. බුදුන්වහන්සේ විසින්ම මෙම සූත්‍ර දෙකට ප්‍රමුඛත්වය දුන් හෙයින්, මෙයි අන්තර්ගත කරුණු සම්භාරය බුදුන්වහන්සේ විසින් සොයාගත් **ධර්මයේ උත්තරීතර සාරය** ලෙස අප නිසැකයකින් නිගමනය කළ යුතුය. ඉතා නිවැරදිව, බුදුන්වහන්සේ මෙම ධර්මය ඉදිරිපත් කිරීම සඳහා වඩාත්ම සුදුසු ලාභදාරීන් වශයෙන් පස්වග මහනුන් තෝරා ගැනු ලැබුවේ ඔවුන් සතුවූ බුද්ධිමත් බවට අමතරව අවුරුදු හයකට ආසන්න කාලයක් තිස්සේ සිද්ධාර්ථ තවුසා කරමින් සිටි දේ ගැන ඔවුන්ට මනා අවබෝධයක් තිබුන බැවිනි.

බුදුන්වහන්සේ වදාල මුල්ම දේශනය **ධම්මචක්කප්පවත්තන** සූත්‍රයයි. මෙම සූත්‍රය බෞද්ධ ධර්මයේ මූලික පදනම ලෙස සැලකෙන **ආර්‍ය සත්‍යයන් හතර** හෙවත් **චතුරාර්යසත්‍යය** හඳුන්වා දෙයි. සත්‍යය ලෙස පරිවර්තනය කර ඇති පාලි වචනය වන ‘‘සත්‍ය’’ ට වඩා ‘‘යථාර්ථය’’ යන වචනය යෝග්‍ය ගැඹුරු අර්ථයක් පිළිබිඹු කරන බව සමහර බෞද්ධ විද්වතුන් පෙන්නා දෙයි. ඉතා කෙටියෙන් කිවහොත් අර්‍ය සත්‍ය හතර සරල ලෙස පහත දැක්වේ.

1. ජීවිතයේ දුක පවතී,
2. දුක හට ගැනීමට හේතුවක් තිබේ,
3. දුක හටගැනීම නතර කල හැකිය, සහ
4. දුක හටගැනීම නැවැත්වීමට මාර්ගයක් තිබේ.

මෙම දේශනා ධර්මය, වෛද්‍යවරයකු ලෙඩෙකුගේ දුක නැමැති රෝගය විනිශ්චය කිරීම සහ එය සුව කිරීමට අවශ්‍ය ක්‍රමානුකූල පිළියම කියාදීමට සම කෙරේ. ‘‘කර්මය’’ සහ ‘‘පුනරුත්පත්තිය’’ සංකල්ප ඒ වන විට ජනතාව අතර ප්‍රචලිතව තිබූ සංකල්පයන් වූ අතර එම සංකල්ප පිලිබඳ මෙම සූත්‍ර දෙකෙහි සඳහන් නොවේ.

ප්‍රශ්නය: මෙම දේශනාව දුක මූලිකව සහ එය නැති කිරීම පිළිබඳව වූයේ ඇයිදැයි ඔබට කිව හැකිද?

පිළිතුර: ඇත්තෙන්ම ඔව්. සිදුහත් කුමරු සිය සුඛෝපභෝගී ජීවිතය අත්හැරියේ මන්දැයි ඔබ නැවත සිතන්නේ නම්, එය ඔබගේ ප්‍රශ්නයට අවශ්‍ය පිළිතුර සපයයි. මට වැටහෙන අන්දමට, සිදුහත් තවුසා තම ගවේෂණය මෙහෙය වූයේ ජීවිතයේ අනිත්‍ය ස්වභාවයත්, එම ස්වභාවය විසින් ඇති කරන දුක්‍ය භාවය අවබෝධ කර ගැනීමත් සහ එම දුක්‍ය ප්‍රභවයට විසඳුමක් තිබේදැයි සොයා බැලීමත්ය.

ප්‍රශ්නය: බුදුන්වහන්සේ පස්වග මහනුන්ට මෙම ධර්මය ඉදිරිපත් කිරීමට පලමුව, පෙර කථනයක් කළේද?

පිළිතුර: බුදුන්වහන්සේ පස්වග මහනුන්ට ආර්‍ය සත්‍යයන් හෙළි කළේ ඊට වසරකට පමණ පෙර, ඔවුන් සිද්ධාර්ථ තවුසා හැර යාමට හේතු වූ දුෂ්කර ක්‍රියාව අත්හැරිම, සාධාරණීකරණය කිරීමෙන් පසුවය. තම දේශනාව සඳහා නිසි වාතාවරණයක් නිර්මාණය කිරීම සඳහා මුලින්ම එය ගැන පැහැදිලි කිරීමක් කලයුතු බව බුදුන්වහන්සේට ඒත්තු ගියේ ප්‍රාඥගෝචරවය. අධ්‍යාත්මික ගවේෂණයකදී ඉන්ද්‍රියන්ට ගෝචර වන දැඩි සුක හෝ දුක් කාමී අන්ත ක්‍රියාවන් දෙකෙන් මිදී මැද මාවතක් අනුගමනය කිරීමේ අරමුණ මෙහිදී බුදුන්වහන්සේ පැහැදිලි කළේය. බුදුන්වහන්සේගේ වදාළේ මැද මාවත තමාට දර්ශනය සාක්ෂාත් කර ගැනීමටත්, දැනුම ලබා ගැනීමටත්, සන්සුන් වීමටත්, තමා කලින් නොදන්නා තීක්ෂ්ණ බුද්ධියට විනිවිද යාමටත්, අවශ්‍ය වූ මානසිකත්වය ඇති කළ බවත් එම පිලිවෙත බුද්ධත්වය අවබෝධ කර ගැනීමට හේතු වූ බවත්ය. ධම්මචක්කප්පවත්තන සූත්‍රය දේශනා කරන ලද්දේ මෙසේ ඔවුන්ව සමනයකට පත්කල පසුවයි.

ප්‍රශ්නය: **චතුරාර්යසත්‍යය** ඔබට පැහැදිලි කළ හැකිද?

පිළිතුර: ඔව්. පළමුවෙන්ම, බුදුන් වහන්සේ “දුක” සත්‍යයක් ලෙස ප්‍රකාශ කළේ එය ජීවිතයේ යථාර්ථයක් ලෙස සැලකිය යුතු බැවිනි. ජීවිතයේ සැප හා දුක යන දෙකම අප අත්විදින නමුත් මෙහිදී දුක ආර්‍ය සත්‍යක් ලෙස විශේෂයෙන් සඳහන් කිරීමේ පරමාර්ථය වූයේ, දුක සොබාදහමේ සත්‍යයක් ලෙස තහවුරු කිරීමත්, එහි පූර්ණ ස්වභාවය පුලුල් වශයෙන් තේරුම් ගැනීමත් සහ අපේ අභ්‍යන්තර ගවේෂණය මගින් දුක් හටගැනීම මුලිනුපුටා දැමීමට අවශ්‍ය වන මාර්ගයට අවශ්‍ය මූලික අඩිතාලම එම සත්‍ය අවබොධයෙන් ස්ථාපනය කිරීමටත්ය.

ප්‍රශ්නය: දුක යනු කුමක්ද?

පිළිතුර: ජීවිතයේ අසතුටට හේතු වන ඕනෑම දෙයක් දුක සැටියට සැලකිය හැක. උපත, මහලු වීම, අසනීප වීම, මරණය, ශෝකය, බලාපොරොත්තු සුන්වීම, අප්‍රසන්න අය සමඟ ඇසුර කිරීම, ප්‍රසන්න අය ගෙන් වෙන්වීම, අවශ්‍ය දේ ලබා ගැනීමට නොහැකිවීම යන දේ මෙම සූත්‍රයේ උදාහරන හැටියට දක්වා ඇත.

දෙවන අර්‍ය සත්‍යය වන "දුකට හේතුව", දුකට හේතුවක් ඇති බවේ යථාර්ථය පැහැදිලිව හඳුනාගැනීමට අවශ්‍ය අවධාරණයට චින්තනය අනුයුක්ත කරයි. බුදුන්වහන්සේ පැවසුවේ දුක ඉපදීමට ප්‍රධාන හේතුව තණ්හාව හා ආශාව බවයි. තුන්වන සත්‍යය පැහැදිලිවම සඳහන් කරන්නේ ප්‍රඥාව වර්ධනය කිරීමෙන් "දුක තුරන් කළ හැකි" බවයි. සිව්වන සත්‍යය වඩාත්ම වැදගත් වනන්නේ එය දුක හටගැනීම නැවැත්වීම සඳහා අනුගමනය කළ යුතු "මාර්ගය" පැහැදිලි කිරීම නිසායි.

ප්‍රශ්නය: දුක නැවැත්වීම සඳහා අනුගමනය කළ යුතු ප්‍රතිකර්ම මාර්ගය කුමක්ද?

පිළිතුර: දුකට ප්‍රතිකාර ලබා ගත හැකි මාර්ගය "**අර්‍යඅෂ්ටාංගික මාර්ගය**" නමින් හඳුන්වයි. මෙම මාර්ගය පහත සඳහන් අංග අටකින් සමන්විත වේ:

1. නිවැරදි දසුන,
2. නිවැරදි චේතනාව,
3. නිවැරදි කථාව,
4. නිවැරදි ක්‍රියාව,
5. නිවැරදි ජීවනෝපාය,
6. නිවැරදි උත්සාහය,
7. නිවැරදි සිහිය,
8. නිවැරදි සමාධිය.

බුදුන්වහන්සේ මෙම මාර්ග අංග අට, උප වර්ග තුනකට බෙදා දැක්වීය. නිවැරදි කථාව, නිවැරදි ක්‍රියාව, නිවැරදි ජීවනෝපාය සහ නිවැරදි උත්සාහය, **ආචාර ධර්ම ලෙස** උප වර්ගීකරණය කර ඇත. නිවැරදි දැක්ම සහ නිවැරදි අභිප්‍රාය, **ප්‍රඥාව වර්ධනය** ලෙස වර්ගීකරණය කර ඇත. නිවැරදි සිහිය සහ නිවැරදි සමාධිය, **මානසික සංවර්ධනය** ලෙස වර්ගීකරණය කර ඇත. මෙම අංග වඩාත් පුලුල්ව වටහා ගැනීමට උපකාරී වන්නේ නම් "නිවැරිදි" යන වචනය "යහපත්" ලෙස ප්‍රතිස්ථාපනය කළ හැක.

ප්‍රශ්නය: ඉපදීම දුකක් ලෙස ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ දැක්වේ. හින්දු ආගමේ මෝක්ෂය ලෙස අර්ථ දක්වා ඇති පරිදි බුද්ධත්වය යනු උපත හා මරණ චක්‍රය නැවැත්වීමද?

පිළිතුර: බුද්ධත්වය ලබා ගැනීම මෝක්ෂයෙන් දෙන ලද නිර්වචනය අනුකරණය කිරීමක් නොවේ. එමෙන්ම බෞද්ධ දර්ශනය තුළ සඳහන් නිර්වානය ගැන ස්ථිර පැහැදිලි අර්ථ දැක්වීමක් ත්‍රිපිටකය තුලින් ලබා ගැනීමටද නොහැකි බව මහාචාර්ය වල්පොල රාහුල හිමි පවා පවසා ඇත. **මූලපරියාය සූත්‍රය** මගින් බුදුන් දේශනා කල පැහැදිලි කිරීමට සාවකයන් දුන් ප්‍රතිචාරය බුද්ධත්වය සහ නිර්වානය අර්ථ දැක්වීමේ අනිශ්චිත බව සනාත කරයි. කෙසේ වෙතත් මේ සම්බන්ධව කරුණු අපට ඉදිරියේදී සාකච්චා කිරීමට හැකි අතර, සංශික්තයක් වශයෙන් හැමදෙයකම පොදු අනිත්‍යභාවය, දුක්ඛිතභාවය සහ අනත්තභාවය අවබෝධ කර ගැනීම සහ එම අවබෝධය ප්‍රායෝගිකව ජීවිත කාර්යන්ට යෙදවීම, දුකෙන් මිදීමේ මාර්ගයේ ප්‍රතිඵලය ලෙස සැලකිය හැක. බුදුන් වදාළ දෙවන සූත්‍රය වන අනත්තලක්ඛණ සූත්‍රය මගින් දේශනා කරන ලද අනත්ත සංකල්පය අධ්‍යයනය කිරීමෙන් මෝක්ෂය සහ බුද්ධත්වය අතර ඇති වෙනස අපට වටහා ගැනීමට හැකිය.

ප්‍රශ්නය: ධම්මචක්කප්පවත්තන සූත්‍රයෙන් දේශනාවෙන් වදාල ධර්ම කරුණු එපමණද?

පිළිතුර: මූලික වශයෙන්, ධම්මචක්කප්පවත්තන සූත්‍රයෙන් දැක්වෙන්නේ එපමනයි. නමුත් බෞද්ධ ධර්මය ගැන අපට දැනගැනීමට දැනට ඉතිරිව ඇත්තේ ත්‍රිපිටකය සහ අනිත් බෞද්ධ ග්‍රන්ථ මගින් පමනක් නිසා බෞද්ධ ඉගැන්වීම් ගන්ථාරූඪ වූයේ කෙසේද යන්න පිළිබඳව පුළුල්ව සිතා බැලීමද අවශ්‍යය කරුණක් ලෙස මම සලකමි.

ප්‍රශ්නය: බෞද්ධ දේශනා ගන්ථාරූඪ කල ආකාරය කෙටියෙන් සඳහන් කළ හැකිද?

පිළිතුර: බුදුන්වහන්සේ බුද්ධත්වයට පත්වීමෙන් පසු අවුරුදු හතළිස් පහකට ආසන්න කාලයක් විවිධ දේශනා ගන්ථාරූඪ වූයේ බුදුන්වහන්සේගේ පරිනිර්වාණයෙන් වසර පන්සීයකට පමන පසුවය. වාචිකව සංනිවේදනය වූ බුදුන්ගේ දේශනාවල අඛණ්ඩතාව සහතික කිරීම සඳහා එම ඉගැන්වීම් ව්‍යුහගත කිරීමට හා සෝදිසි කර බැලීම සඳහා ප්‍රමුඛ නායක බෞද්ධ භික්ෂූන් වහන්සේලා වැඩි සැලකිල්ලක් දැක්වූ බව පැහැදිලිව පෙනී තිබේ. කෙසේ වෙතත්, මෙම අවුරුදු 500 ක කාලය තුළ බෞද්ධ සාහිත්‍යය යම් ආකාරවල දූෂණ වීම් හෝ දූෂණය වීමේ හැකියාවන් තිබීම අප විවෘතව අවබෝධ කර ගත යුතුය. බුදුන්ගේ ප්‍රථම සූත්‍රය පස්වග මහනුන්ට දේශනා කිරීමේදී පවා, එම දේශනාවට සවන් දීමට බොහෝ දෙවිවරුන් අවස්ථාව ලබා ගත් බවත්, අවසානයේදී පෘථිවිය දෙදරුම් කෑ බවත් යැයි සඳහන්වන අද්භූත දෑ සුලබ වන්නේ එබැවිනි. මේවා බුදුන්වහන්සේගේ ශ්‍රේෂ්ඨත්වය උත්කර්ෂණයට භාජනය කිරීම සඳහා පැහැදිලිවම අඩංගු කර ඇති බව විවෘත මනසකින් බලන ඕනෑම අයකුට පෙනී යයි.

ප්‍රශ්නය: බෞද්ධ ඉගැන්වීම් ගන්ථාරූඪ කළේ කොහේද සහ කවදාදැයි ඔබ දන්නවාද?

පිළිතුර: මෙය ක්‍රි.පූ. 29 - 17 දී වලගම්බා රජුගේ පාලන සමයේදී ලංකාවේදී සිදුවිය. මේ සඳහා භාවිතා කළ භාෂාව වූයේ 'පාලි' භාෂාවය. මුලින් සංරක්ෂණය කරන ලද ව්‍යුහාත්මක ඉගැන්වීම් හැඳින්වූයේ ත්‍රිපිටකය ලෙසිනි. ත්‍රිපිටකයට අමතරව තවත් බෞද්ධ ග්‍රන්ථ රාශියක් තිබේ. සූත්‍ර දහසකට වඩා ඇති අතිවිශාල එකතුව සලකා බැලීමේදී, සෑම සූත්‍රයක්ම පාහේම සැලකිය හැක්කේ එම දේශනාවල සාරාංශගත ස්වරූප ලෙසය. මෙම උපකල්පනයට පදනම්ව, ධම්මචක්කප්පවත්තන සූත්‍රයද බුදුන්ගේ පළමු දේශනාවේ සාරාංශයක් ලෙස සැලකිය හැකිය.

ප්‍රශ්නය: එසේ නම්, ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ මීට වඩා වැඩි විස්තර තිබෙන්නට හැකි යැයි ඔබ සිතනවාද?
පිළිතුර: පස්වග මහනුන් සහ බුදුරජාණන් වහන්සේ මෙම සූත්‍රයේ හෙළිදරව් කළ ධර්ම කරුණු පිළිබඳව පුළුල් ලෙස සාකච්ඡා කරන්නට ඇති බව නොඅනුමානයි.

ප්‍රශ්නය: මෙම සූත්‍රයට පස්වග මහනුන් ප්‍රතිචාර දැක්වූයේ කෙසේද? දේශනාව අවසානයේදී කිසිවෙකු රහත් බවට පත් වූයේද?
පිළිතුර: පළමුවෙන්ම අපි මෙම බ්‍රාහ්මණයන් පස්දෙනාට කුමන අන්දමේ මානසිකත්වයක් තිබුණේද යන්න ගැන, තවදුරටත් විමර්ශනය කරමු. එවකට පැවති හින්දු ධර්මයේ දැඩි අනුගාමිකයන් වශයෙන් ඔවුන්ගේ අධ්‍යාත්මික විශ්වාසයන් තුළ කර්මය, නැවත ඉපදීම, දහස් ගණන් දෙවිවරුන්ගේ පැවැත්ම සහ හින්දු ආගමට මූලික වූ විවිධ විශ්වාසමය අදහස් තිබෙන්ට ඇතැයි සැලකිය හැකිය. සිද්ධාර්ථ තවුසාට උපකාර කිරීම සඳහා ඔවුන් පත් වූ පසු, මුල සිටම ඔවුන් සිද්ධාර්ථ තවුසාගෙන් අපේක්ෂා කරනු ඇත්තේ හින්දු ආගමේ අර්ථ දක්වා ඇති පරිදි මෝක්ෂය නොහොත් උපත සහ මරණ චක්‍රයේ අවසානය සාක්ෂාත් කර ගැනීම සිද්ධාර්ථ තවුසා උදාකරගනු ඇති බවයි.

ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ අන්තර්ගත ධර්මයේ එවැන්නක් ඔවුන්ට පෙනෙන්ට තිබුනේ නැත. වදාළ ධර්මය ඔවුන්ගේ විශ්වාසයන්හි කිසිදු වෙනසක් ඇති කළේද නැද්ද යන බව ගැන විශේෂ සඳහනක් නොමැති නමුත්, සූත්‍ර අවසානයේදී එහි අන්තර්ගතය අවබොධකර ගැනීමට හැකිවූයේ පස් දෙනාගෙන් ලාබාලතම හා බුද්ධිමතම කොන්ඩඤ්ඤ තවුසාට පමණක් බව සඳහන් වේ. ඒ පිලිබඳව බුදුන්වහන්සේ ඉතා සතුටට පත්වූ බවත් ''කොණ්ඩඤ්ඤ ඇත්තෙන්ම තේරුම් ගෙන ඇත! කොණ්ඩඤ්ඤ ඇත්තෙන්ම තේරුම් ගෙන ඇත! '' යැයි බුදුන් උද්ධාම ප්‍රකාශයක් කල බවත් සඳහන් වේ.

**දෙවන දේශනාව - අනත්තලක්ඛණ සූත්‍රය**

ප්‍රශ්නය: පළමු දේශනාවෙන් කොණ්ඩඤ්ඤ ඇර අනෙක් සිව්දෙනා අවම වශයෙන් පැහැදීමකට හෝ තෘප්තිමයකට පත් වූවාද?
පිලිතුර: පළමු සූත්‍රයට සවන් දීමෙන් පසු ඔවුන් සිව්දෙනා විශේෂත්ව භාවයකට පත්වුන බවකට සඳහනක් නොමැති මුත්, ඔවුන් පස්දෙනාම බුදුන්වහන්සේ වදාළ දෙවැනි දේශනය වන **අනත්තලඛකන සූත්‍රයට** සවන් දීමෙන් **රහත් භාවයට පත්වූ බව** සඳහන් වේ. පාලි භාෂාවෙන් ''අත්ත'' ලෙස හඳුන්වන්නේ ආත්මයයි. මෙම සූත්‍රයෙන් සඳහන් වන්නේ, විශේෂයෙන්ම හින්දු ආගමේ ආත්ම සංකල්පයෙන් නිරූපනය කරන "ආත්මය" මායාමය අදහසක් පමනක් බවයි. බුදුන්වහන්සේ වදාළ 'ආත්මයක් නොමැති බව' හෙවත් **"අනත්ත සංකල්පය"** හින්දු ආගම ඉදිවී තිබූ **"ආත්ම සංකල්පයට"** සම්පූර්ණයෙන්ම ප්‍රතිවිරුද්ධ අදහසකි. අනත්තලඛකන සූත්‍රයෙන් හෙළි කල අනත්ත සංකල්පය බෞද්ධ ධර්මයේ හරාත්මක සංකල්පය හැටියට ඇත්තෙන්ම සැලකිය හැක්කේ ඇයිදැයි අපි ඉදිරියට සාකච්චා කරමු. බුදුන්වහන්සේ යථාර්ථයක් හැටියට හින්දු ආගමේ අර්ථ දක්වන ''ආත්මය'' යනුවෙන් හැදින්වීමට කිසිවක් නොමැතිව බව පමනක් නොව, මේ තුලින් **"මම" යන හැඟීම අත්විඳින දෙයක් ඇත යන උපකල්පනය කරන මමද**

මායාමය අදහසක් බව වදාළහ. බොහෝ ආගම්වල තිබෙන ආත්ම සංකල්පයන්ට පටහැනිවන "අනත්ත සංකල්පය" බෞද්ධ ධර්මයෙන් පමනක් පිලිබිඹු වන **අනන්‍ය ලක්ෂණයක්** ලෙස අනිත් ආගම් අතරින් කැපී පෙනෙයි.

බුදුරජාණන්වහන්සේ අනත්ත සංකල්පය ලොවට හඳුන්වාදීම සහ විද්වත් අයින්ස්ටයින් සාපේක්ෂතාවාදයේ න්‍යාය ලොවට හඳුනාදීම, යම් අයුරකින් සංසන්දනය කිරීමට හැකි බව මගේ අදහසයි. මෙම සොයාගැනීම් වල තිබෙන සමානාත්මක ස්වභාවය නම් අනිත් අයට නොපෙනුන විශේෂ යථාර්ථයන් දෙකක් ඔවුන් දෙදෙන ලොවට හඳුන්වා දීමයි. තවත් ප්‍රධාන කරුනක් නම් මෙම ශ්‍රේෂ්ඨ පුද්ගලයන් දෙදෙනාටම මේම හෙලිදරව් වලට උපකාරී වුයේ විද්‍යා පරික්ෂණාගාර නොව, තමන්ගේම සිතීම් තුලින් කල තීක්‍ෂණික ගවේෂණයන්හි ප්‍රතිඵලයන් වීමයි. මෙයට අදාල නොවුණත්, සමීම සබැඳියා උදාහරණයක් වශයෙන් වරක් ඉතාලියේ ලෝකප්‍රකට ඩේවිඩ්ගේ ප්‍රතිමාවේ නිර්මාණය ගැන එහි මුර්ති ශිල්පියා වූ මයිකල්ඇන්ජලෝගෙන් යමෙකු විමසූ විට ඔහු පැවසුවේ එම ප්‍රතිමාව එම විශාල තිරිවාන ගල තුළ තිබූ බවත්, ඔහු කරනු ලැබුවේ එය දෘශ්‍යමාන වන පරිදි අනවශ්‍ය කොටස් ටිකින් ටික ඉවත් කිරීම පමනක් බවත්ය. අනත්ත සංකල්පයේ දෘශ්‍යමානය එලෙස සිදුවිය.

ප්‍රශ්නය: ඔබ අනත්ත සංකල්පයට සැහෙන ඇළුම් කිරීමක් කරන බව පෙනේ. එහෙත්, මෙම සංකල්පය පිළිගැනීමේදී ඊට හාත්පසින්ම විරුද්ධ වූ ආත්ම සංකල්පනය විශ්වාස කරමින් සිටි පස්වග මහනුන් එම නව අදහසට ප්‍රතික්‍රියා කළේ කෙසේද?

පිළිතුර: මෙම සාකච්චාව පුරාම අපි අවධාරණය කල පරිදි, ආගමික විශ්වාසයන් එක් එක් පුද්ගලයාට ඉතා සමීප මෙන්ම පහසුවෙන් වෙනස් නොවන, මානසික ලක්ෂණයන්ය. මෙම රීතිය පස්වග මහනුන්ටද අදාළ වන බව අප තේරුම් ගත යුතුය. කෙසේ වෙතත්, බුදුන්වහන්සේ වදාළ

**අනත්තලක්ඛණ සූත්‍ර දේශනාව,** මෙම බුද්ධිමතුන් පස්දෙනා විසින් අනාදිමත් කාලයක සිට විශ්වාස කරන ලද හින්දු ආගමේ මූලික පූරුක වූ ආත්ම සංකල්පය පසෙක දා එයට ප්‍රතිවිරුද්ධ අනත්ත සංකල්පය වැලද ගැනීමට ඔවුන්ට විශේෂ මානසික බලපෑමක් කරන්නට ඇතැයි අපට සිතිය හැකිය. අනිවාරයෙන්ම අනත්ත සංකල්පය බුදුන්වහන්සේගේ සත් අවුරුදු ගවේෂණයෙන් ලද අනන්‍ය සොයා ගැනීමයි. හුදෙක් සංකීර්ණ වූ අනත්ත සංකල්පය තේරුම් ගත යුතු ආකාරයටම එය අවබෝධ කර ගැනීම සඳහා පස්වග මහනුන් බුද්ධි සම්පන්න වූ අතර මේ ගැන ඔවුන් සහ බුදුන් අතර දීර්ඝ සාකච්චාවක් අනිවාර්යයෙන්ම තිබෙන්නට ඇතියැයිද අපට සිතිය හැකිය. කෙසේ වෙතත්, අවසානයේ දී, ඔවුන් පස්දෙනා සූත්‍ර දෙකෙහි ඇති ඒකාබද්ධ කරුණු ගැන කොතරම් ඒත්තු ගැනීමක් ලැබුවේ දැයි කිවහොත්, ඔවුන් වහාම බුදුන්වහන්සේගේ පළමු ගෝලයන් වීමට තීරණය කල අතර ඊට පසු ඔවුන් ‘‘ධර්මය’’ ව්‍යාප්ත කිරීම සඳහා දූත මෙහෙවරයක නිරත විමටද එකග වීය.

ප්‍රශ්නය: අනත්ත සංකල්පය යනු කුමක්ද?

පිළිතුර: මූලික වශයෙන් එයින් අදහස් වෙන්නේ, ආත්මයක් හෝ ‘මම යැයි’ අර්ථ දැක්විය හැකි කිසිවක් යථාර්ථවාදීව නොමැති බවයි. අප තුළ සිදුවන ක්‍රියාවලියන් නිසා, මානසික ප්‍රවාහයේ මම යන හැඟීම ඇති කරයි. මෙය පාලි භාෂාවෙන් ‘‘**සක්කාය දිට්ඨි**’’ ලෙස අර්ථ දැක්වේ. මානසික ක්‍රියාවලියන් සිදුවන්නේ මොළයේ බව දැන් අපි දන්නා නමුත් බුදුන්ගේ කාලයේ මෙය දැන සිටියේ නැත. එකල මොළයේ සිදුවන මානසික ක්‍රියාවන් හැදුන්වූයේ මනසෙහි සිදුවන දේ ලෙසටය. චින්තනය මොලයේ සිදුවන නමුත් මනස යනු යම් ප්‍රධාර්ථයක් හෝ ප්‍රධාර්ථයක ස්වභාවයක් ඇති දෙයක් නොවේ. මනස යනු නාම පදයකින් හැදින්විය හැකි දැයක් නොවේ. මනස යනු මොලයේ මානසික ක්‍රියාදාම සමූහයක ක්‍රියාකාරිත්වයන් වන බැවින් එය ක්‍රියා පද සංයුතියක් පමනකි. එබැවින් මානසික ක්‍රියාවලීන්ගේ ප්‍රතිඵලයක් ලෙස නිර්මාණය වන ආත්මය යන අදහස මනඃකල්පිතයි. සුප්‍රසිද්ධ ඉන්දියානු

දාර්ශනිකයෙකු වන ජේ. ක්‍රිෂ්ණමූර්ති පවසන අන්දමට "චින්තනය චින්තකයා නිර්මාණය කරයි. නමුත් චින්තකයා බිහි කරන්නේ චින්තන ක්‍රියාවලියයි. සිතුවිල්ල පළමුව සිදුවේ. චින්තකයා එහි ප්‍රතිඵලයකි. එම ක්‍රියාවලිය අනෙක් අතට සිදුනොවේ. චින්තනය චින්තකයාය." සිතුවිලි පහලකරන චින්තකයෙකු යථාර්ථ සහගතව නොමැති බව කියවෙන මෙම කියමන ගැන තවදුරටත් අපට අධ්‍යයනය කල හැක.

ප්‍රශ්නය: ආත්මයක් හෝ මම යැයි කිසිවක් නොමැති නම්, එක් උපතක සිට තවත් උපතක් කරා යාමට එය හා සම්බන්ධ කිසිවක් නොමැති බව පෙන්වයි. ඒම මතය හරිද? බොහෝ බෞද්ධයන් ඇතුළු සියලුම ආගම් ලබ්දීන්, ආත්මයක් ගැනත්, මරනයෙන් පසු ජීවිතයක් ගැන විශ්වාස කරන බවත් අප දන්නා කරුනකි. එම නිසා ඔබ කියන දේ ගැන මට සැක සහගතයි. පෙරදිග සියලුම ආගම් පාහේ අපේ ජීවිතයේ බොහෝ සිදුවීම් වලට බලපෑම් කරන කර්ම සංකල්පය, උපත් සහ මරන චක්‍රයට සම්බන්ධ කරයි. ඔබට මේ ගැන කිව හැක්කේ කුමක් ද?

පිළිතුර: ඔබ ප්‍රකාශ කරන සියලු අදහස් පැමිණ ඇත්තේ බුදුන් සමයේ පැවති හින්දු ආගම් මාත්‍රාවලට සම්බන්ධ විශ්වාසයන්ගෙන්ය. ඇත්ත වශයෙන්ම, මුල්ම කාලයේ තිබුණ වේදීය ග්‍රන්ථවල, කෙනෙකුගේ **මරණින් පසු උපත දිව්‍යලෝකවලට සහ නිරයට පමනක් සීමා වී** තිබුණි. එම අදහස බොහෝ ආගම්වලට පොදු වන අතර ඒ ඒ පුද්ගලයා විසින් සිදු කරන ලැබූ හොඳ හෝ නරක ක්‍රියාවන් ලබා දෙන විපාක මත පදනම් විය. නමුත් දිව්‍යලෝකවල හෝ නිරයන්වල දී තමන්ගේ සියලු කුසල් හෝ අකුසල් අවසන් වූ පසු ආත්මයට කුමක් සිදුවේද යන ප්‍රශ්නයට විසඳීමක් වශයෙන් පසුකාලීනව හින්දු ඉගැන්වීම් එම ආත්මය **නැවතත් පොළවේ උප්පත්තිය** ලැබීමේ අදහස හඳුන්වා දී ඇත. මෙයින් පෙනීයන්නේ ආගමික සංකල්ප පවා ක්‍රමයෙන් නවීකරනය වු බවත් අදටත් වෙනස් වෙමින් පවතින බවත්ය.

බුදුන්වහන්සේ හදුන්වා දුන් අනත්ත සංකල්පය අනිත් ආගම් වල ඇති ආත්ම සංකල්ප විශ්වාසවලට සම්පූර්ණයෙන්ම ප්‍රතිවිරුද්ධය. අනත්ත සංකල්පය නිසියාකාරව තේරුම් ගත හැක්කේ කෙසේද සහ අනත්ත සංකල්පය චතුරාර්යසත්‍යයටත්, අශ්ඨාංගික මාර්ගයට සහ බුද්ධත්වයට සම්බන්ධ වන්නේ කෙසේද බව පැහැදිලි කළ හැකිය. එසේම, පුනරුත්පත්ති සංකල්පය බෞද්ධ ඉගැන්වීම්වලට ඇතුළත් වූයේ මන්දැයිද අපට සාකච්ඡා කල හැක.

ප්‍රශ්නය: කරුණාකර පැහැදිලි කරන්න?
පිළිතුර: අනත්ත සංකල්පය අප ලබන එදිනෙදා සැබෑ අත්දැකීම්වලන් තේරුම් ගැනීම පහසු නොවේ. අනත්ත සංකල්පය වචනානුසාරයෙන් සහ අභ්‍යන්තරීකරණය නොකළ ස්වභාවයකින් තේරුම් කරගත හැකි යයි උපකල්පනය කිරීමද වැරදි අදහසකි. එහෙත්, අනත්ත සංකල්පය ගැන ගැඹුරු අවබෝධයක් ලබා ගැනීම සහ අශ්ඨාංගික මාර්ගයේ අඩංගු දෑ මානසික ක්‍රියාකාරිත්වයන්ට ඒකාබද්ධ කිරීම, කෙනෙකුට මම යන කේන්ද්‍රීයක් නොමැති සත්‍යමය යථාර්ථයේ ජීවත්වීම උදාකර දෙයි. මෙම අත්දැකීම බුද්ධත්වයට පත්වීමේ ලක්ෂණය යනුවෙන් හැදුන්විය හැක. බුද්ධත්වය, හුදෙක්ම ආනුභවික අවබෝධයක් වන අතර එය ආධ්‍යාත්මික තත්වයක් හෝ ආනුභූතික හෝ අනත්ත සංකල්පය පිළිබඳ දාර්ශනික අවබෝධයක් නොවන බවද ධාරනය කරගත යුතු වේ.

බුදුන්වහන්සේ, අනත්ත සංකල්පය තම අනුගාමිකයන්ට තේරුම් ගත හැකිද නොහැකිද යන්න පිළිබඳව සිතා බැලුබව ඉතා පැහැදිලිය. අනත්ත සංකල්පය සොයා ගැනීම බුදුන්වහන්සේගේ සත්‍ය ගවේෂණයේ ප්‍රධානතම ප්‍රතිඵලයක් වූ නමුත් එය සාමාන්‍ය අනුගාමිකයන්ට තේරුම් ගැනීම දුෂ්කර බව ඒත්තු ගිය නිසාත්, නොයෙකුත් සමාජීය හේතු නිසාත්, මෙම සංකල්පය පුළුල්ලෙස දේශනා කිරීමට පසුබට වූවා යැයි අපට අනුමාන කලහැක.

අයින්ස්ටයින් සිය සාපේක්ෂවාදය ඉදිරිපත් කළ විට බොහෝ විද්වතුන් ඒ ගැන සිනාසුණි. නමුත් ඔහුට මෙන්ම ලෝකයාගේ භාග්‍යයකට එක් මහාචාර්යවරයකු ඔහු ඉදිරිපත් කළ වාදයෙහි අර්ථයක් ඇති බව වටහාගෙන එය තවදුරටත් පැහැදිලිව තේරුම් ගැනීමට උත්සාහ කිරීමේ ප්‍රතිඵලයක් වශයෙන් අයින්ස්ටයින්ගේ සාපේක්ෂතාවාදය මුළු ලෝකයටම දැනගැනීමේ භාග්‍යය උදා විය. ඒ හා සමානව බුදුන්වහන්සේගේ අනත්ත සංකල්පය පස්වග මහනුන් අවබොධ කරගැනීම සුවිශේෂ සිද්ධියක් ලෙස සැලකිය යුතුයි. ඔවුන් එම සංකල්පය ප්‍රතික්ෂේප කළා නම් බෞද්ධ දර්ශනයේ අනාගත ප්‍රවර්ධනයට කුමක් සිදුවීමට ඉඩ තිබුනේද යන්න ප්‍රශ්න සහගතය.

බුදුන්වහන්සේ සිය භික්ෂු ප්‍රජාව පිහිටුවා වසර කිහිපයකට පසු, වරක් බුදුන්ගේ ප්‍රධාන සහායක වු ආනන්ද ථෙර බුදුන්වහන්සේට තම අදහස් දක්වමින් කියා සිටියේ අනත්ත සංකල්පය තේරුම් ගැනීම ඉතා පහසු බවයි. යථාර්ථවාදීව හා තම අත්දැකීමෙන් මෙම සංකල්පය ග්‍රහණය කර ගැනීමට ආනන්ද ථෙර හට කිසිම හැකියාවක් නැති බව බුදුන්වහන්සේ ඒත්තුගී සිටි බැවින් ආනන්දගේ ප්‍රකාශය පදනම් විරහිත බව ඔහුට තේරුම් කර දුන්නේය. එම අවස්ථාවේදී බුදන්වහන්සේ ආනන්දට පෙන්වා දුන්නේ, ඔහු තේරුම් ගත් බවට හෝ සිතන ආකාරයට අනත්ත සංකල්පය තේරුම් ගැනීම පහසු නොවන බවත්, අනත්ත සංකල්පය සංකීර්ණ ධර්මයක් බවත්ය.

ප්‍රශ්නය: අනත්ත සංකල්පය තේරුම් ගත යුතු ආකාරය ඔබට පැහැදිලි කිරීමට හැකිද?

පිළිතුර: අනත්ත සංකල්ප පිළිබඳ ව්‍යාකූලත්වය මඟහරවා ගැනීම සඳහා බුදුන්වහන්සේ මූලිකව සියලු දේ සත්‍යයන් කොටස් දෙකකට බෙදීමට හැකි බව සඳහන් කළේය. එම සත්‍යයන් නම් ‘‘සාම්ප්‍රදායික සත්‍යය’’ සහ ‘‘පරමාර්ථ සත්‍යය’’ යන්නයි. එදිනෙදා ජීවිතයේ දී, අප දකින බොහෝ දේ සාම්ප්‍රදායික සත්‍යය ලෙස සැලකිය හැකිය. උදාහරණ කිහිපයක් හැටයට; පෘථිවිය පැතලි බව අපට පෙනේ. එය සාම්ප්‍රදායික සත්‍යයයි. නමුත් එය සැබවින්ම ගෝලාකාරය. බොහෝ දෙනෙකුට එය දෘශ්‍යමාන කිරීමට නොහැකි නමුත් සත්‍ය යථාර්ථය එයයි. න්‍යෂ්ටිය වටා කක්ෂගත වී ඇති ඉලෙක්ට්‍රෝන, පරමාණුවේ න්‍යෂ්ටියට සාපේක්ෂව විශාල දුරකින් ඇති බැවින් පරමාණුවක් 99% කට වඩා හිස් බව අපි දනිමු. අපි පරමාණු වලින් සෑදී ඇත. එබැවින් අපි 99% ට වඩා හිස් සහගත ශරීර විය යුතුය. යථාර්ථය මෙය වුවද අපගේ ශරීරය එසේ හිස් දෙයක් හැටියට අප අර්ථ දක්වන්නේ නැත. සුදු ආලෝකය වර්ණ හතකින් සෑදී ඇත, නමුත් අපි එම වර්ණ වෙන වෙනම නොදකින නිසා ආලෝකය වර්ණ රහිත යැයි උපකල්පනය කරමු. සාම්ප්‍රදායික සත්‍යයන් සහ පරමාර්ථ සත්‍යයන් අතර ඇති වෙනස්කම් මෙම උදාහරණ පෙන්වා දෙයි. කරුණු අවබෝධ කර ගැනීම හෝ පැහැදිලි කිරීම සහ අවශ්‍ය ලෙස සන්නිවේදනය කිරීම සඳහා අපි මෙම සත්‍යයන් වර්ග දෙක භාවිතා කරමු. දෛනික කාරණා සම්බන්ධයෙන් කටයුතු කිරීමේදී ‘‘පරමාර්ථ සත්‍යය’’ පමනක් භාවිතා කිරීමට උත්සාහ කළහොත්, අපට විශාල අපහසුතා වලට මුහුනපාන්නට සිදුවනවා ඇත.

බුදුන්වහන්සේ පැවසුවේ ආත්මය සාම්ප්‍රදායිකව පවතින නමුත් පරමාර්ථ සත්‍යයක් වශයෙන් එවැනි දෙයක් නොමැති බවයි. බෞද්ධ ඉගැන්වීම්වල ‘‘අනත්ත සංකල්පය" අවබෝධ කර ගත යුත්තේ පරමාර්ථ සත්‍යය යටතේය.

ප්‍රශ්නය: අනත්තලක්ඛන සූත්‍රයෙන් අනාවරණය කරන ලද දේ මෙපමනද?

පිළිතුර: බුදුන්වහන්සේ අනත්ත සංකල්පය පැහැදිලි කිරීම සඳහා, පුද්ගලයෙකු සංයුක්තව වී ඇති මූලාශ්‍ර පහ යැයි එවකට හින්දු සාම්ප්‍රදායිකව පිලිගෙන තිබු **පංචස්කන්ධය** තම විශ්ලේෂණයට භාජනය කලේය. මෙම මූලාශ්‍ර පහ, මූලික වශයෙන් නාම සහ රූප යන කාණ්ඩ දෙකට අයත් වේ. රූප වශයෙන් හැඳින් වන්නේ අප සම්මත හැටියට දන්නා දේ වලටය. උදාහරන හැටියට ගස, පුටුව, සබ්ද. ගන්ධ, රස, ශරීරය ආදී දෙවල් සහ එම දේවලට සම්බන්ධ උනුසුම්, සිසිල්, සැහල්ලු, බර, ඝන, දියර වැනි සියලුම භෞතික ගුණාංග රූප වේ. බෞද්ධ ධර්මයේ විශේෂයෙන්ම නාම ලෙස හඳුන්වන්නේ මනස ඇසුරු කරන මූලයන් සඳහාය. රූපයන්ට අමතරව මනසට සම්බන්ධ මූලාශ්‍ර හතරකි. මෙම මූලාශ්‍ර හතර වන්නේ හැඟීම, සංජානනය, සංකරනය සහ විඥානයයි. මේ අනුව පංචස්කන්ධය යනු ශරීරය, හැඟීම, සංජානනය, මතයන් සහ විඥානය වේ. ස්කන්ධයන්ගේ මූලික ලාක්ෂණයන් වන්නේ ඒවායේ කෙටිකාලීන ක්ෂණිකව වෙනස්වන සුළු අනිත්‍ය ස්වභාවයයි. සම්මත අන්දමට පංචස්කන්ධයන් පහත සඳහන් වේ.

1. රූප ස්කන්ධය
2. වේදනා ස්කන්ධය
3. සංඥා ස්කන්ධය
4. සංඛාර ස්කන්ධය
5. විඤ්ඤාණ ස්කන්ධය

බුදුන්ගේ සමයේදී සම්මතයක් වශයෙන් බොහෝ වියතුන් ආත්මය හෝ මම යැයි අදහස් කරනු ලැබුවේ මෙම ස්කන්ධයන් පහ ආශ්‍රිතවය. නමුත් බුදුන්වහන්සේ පැහැදිලි කළේ මෙම ස්කන්ධ තනි තනිව හෝ කිසිදු සංයෝජනයකින් ගත් විට හෝ සියලුම එකතුව එකට ගත්විට, ආත්මය හෝ මා යැයි හෝ පුද්ගලයෙකු ලෙස සැලකිය හැකි කිසිදෙයක් යතාර්ථිකව නොමැති බවයි. බුදුන් සමයේදි ආත්ම සංකල්පය පිලිබඳව පරස්පර අදහස්වාදීන් දෙකොටසක් සිටියේය. එක කොටසක්, ආත්මය මෙම

ජීවිතකාලය තුලට පමනක් සීමා කල අතර අනිත් කොටසේ විශ්වාසය වූයේ ආත්මය මෙම ජීවිතයෙන් ඔබ්බට ඉපදීම සහ මරන චක්‍රය ගෙන යන ස්ථිර ආයතනයක් හැටියටය. බුදුන්වහන්සේ මේ අදහස් දෙකටම විරුද්ධ වූයේ **පරමාර්ථ සත්‍යක් ලෙස** ආත්මයක් හෝ මම හෝ පුද්ගලයෙකු යැයි කියා හැඳින්වීමට කිසිම දෙයක් යතාර්ථිකව නොමැති නිසාය.

### චින්තකයා, කර්මය සහ පුනරුප්පත්තිය

ප්‍රශ්නය: ආත්මයක් නොමැති නම් සිතුවිලි සිතන්නෙකු සිටිය නොහැකිය. අනත්ත සංකල්පය නිවැරදි නම්, කර්මය දරන්නේ කවුද? හෝ නැවත ඉපදෙන්නේ කවුද?

පිළිතුර: බෞද්ධ ඉගැන්වීම් හැර අනෙකුත් සියලුම පාහේ ආගම්වල, ආත්මය යනුවෙන් කෙනෙකු හා සම්බන්ධ අදෘෂ්‍යමාන දෙයක් හෝ ශක්ති කදම්බයක් ගැන විස්තර කරයි. ඒ අනුව එම ආත්මය, එහි අයිතිකරු වන ඔහු හෝ ඇය එක් ජීවිතයක අවසානයේදී තවත් ජීවිතයක උපත කරා ගෙන යයි. යුදෙව්, ක්‍රිස්තියානි, ඉස්ලාම් සහ එවැනි ප්‍රධාන ආගම් වලට අනුව, දෙවියන් වහන්සේ විසින් විනිශ්චය කරන අනාගත දිනයේදී සියලුම ආත්මයන් දෙව්ලොවට යනවාද නැත්නම් අපායට යනවාද යන විනිශ්චය ගනු ලබයි. එම නිසා සියලු මලවුන් තම ආත්මයන්ගේ විනිශ්චය සඳහා, එම දිනය එනතුරු බලාසිටිය යුතු වන අතර එම විනිශ්චයන්ට පදනම් වන්නේ ඔහුනොවුන් කර ඇති හොඳ සහ නරක දේ විභාගයකට භාජනය වීමෙනි. බොහෝ ආත්මයන් දෙවියන් වහන්සේගේ රාජ්‍යය නොහොත් ස්වර්ගයට යාමෙන් අවසන් වීමට හේතුවන බවත් ඉතිරි අය නිරයෙන් කෙළවර වන බවත් එම ආගමික අනුගාමිකයන්ගේ පොදු විශ්වාසයයි.

හින්දු ආගමේ විශ්වාසයට අනුව ආත්මය යනු, ඉපදීම සහ මරනය යන චක්‍රයට ලක්වී ඇති ප්‍රභවය බවයි. එලෙසම තමන් කරන යහපත් සහ අයහපත් දෑ කර්ම

නමින් හැඳින්වෙන අතර තමන්ගේ ඊළඟ උපතදී පමනක් නොව, දැන් ලබාතිබෙන ජීවිත කාලයේදීද තමන්ට විදීමට සිදුවන සුභ හෝ අසුබ දේ තමන් කරන ලද කර්මවල විපාක පලදීමක් ලෙස සලකයි. කෙසේ වෙතත්, හින්දු ධර්මයට අනුව, සවඋත්සහයෙන් තමන්ගේ ආත්මය, උපත් හා මරණ චක්‍රයෙන් නිදහස් කරවීමට පුළුවන් වන අතර, එය "**මෝක්ෂය**" උදාකර ගැනීම හැටියට අර්ථ දැක්වේ. මෝක්ෂය ලබාගත් පුද්ගලයෙකු මිය ගිය පසු නැවත ඉපදීමක් නැති අතර ඔහුගේ ආත්මය විශ්ව ශක්ති ප්‍රභවයට ඒකාබද්ධ වේ. විශ්ව ශක්ති අර්ථ දැක්වෙන්නේ විශ්වය ඇතුළු සෑම දෙයක්ම ආරම්භ වූයේ යැයි කියනු ලබන ශක්ති ප්‍රභවයටය. එය එසේ නමුත් මෙම විෂ්ව ශක්තිය යන හින්දු අදහස සමහර අවස්ථා වලදී බ්‍රක්මාන් හෙවත් මහාබ්‍රහ්මයා යන උත්තරීතර දෙවියෙකු වශයෙන් කරන අදහසක්ද නිරුපනය කරයි.

හින්දු ආගමේ ඇති ශ්‍රේෂ්ත්‍ර ග්‍රන්ථවල, ආත්මය නිර්වචනය කරනුයේ අප කලින් සාකච්ඡා කළ "නාම" සහ "රූප" යන අංශ දෙකට සම්බන්ධ කිරීමෙනි. බෞද්ධ ඉගැන්වීමවල බොහෝ ආකාරවලින් හින්දු ඉගැන්වීම් සමඟ සම්බන්ධකම් පෙනෙන්නට ඇති බැවින් ආත්මය ගැන අවබෝධ කර ගැනීමේදී මෙම ආගමික විශ්වාසයන් දෙක අතර තිබෙන කැපී පෙනෙන වෙනස්කම් අවබෝධ කර ගැනීම වැදගත්ය. හින්දු ආගමේ ආත්මය පහත දැක්වෙන පාඨ වටා විස්තර වී ඇත. "ඔබ ඔබේ ශරීරය හඳුනාගනී, නමුත් ඔබයනු ඔබේ ශරීරය නොවේ, ඔබේ ශරීරය ඔබේ ආත්මය පිලිබඳ සාක්ෂියයි; ඔබ ඔබේ සිතුවිලි හඳුනා ගත්තද ඔබයනු ඔබේ සිතුවිලි නොවේ, ඔබේ සිතුවිලිවල සාක්ෂිය ඔබේ ආත්මයයි; ඔබ ඔබේ හැඟීම් හඳුනා ගනී, ඔබයනු ඔබේ හැඟීම් නොවේ, ඔබේ ආත්මය ඔබේ හැඟීම්වල සාක්ෂියයි." ඉහත සඳහන් කළ පරිදි, ආත්මය "නාම" සහ "රූප" සංකල්පයේ සාක්ෂිකරුවෙකු ලෙස ඇති සම්බන්ධයක් පෙන්නුම් කරයි. බුදුන්වහන්සේ හින්දු ආගමේ තිබූ මෙම පැහැදිලි කිරීම පිළිබඳව හොඳින් දැන සිටි නිසා, මෙම මතය පිළිබඳ සිය

අදහස පැහැදිලිව විස්තර කළේ ආත්මය යනුවෙන් අර්ථ දැක්වීමට හැකි මෙවැනි ''සාක්ෂිකරුවෙකුද'' නොමැති බව ප්‍රකාශ කිරීමෙනුයි.

වෙනත් වචන වලින් කිවහොත්, පරමාර්ථ සත්‍යයේ අර්ථ දැක්වීම යටතේ සිතුවිලි සිතන්නෙකු හෝ සංවේදනයන් ඇති කරන්නෙකු හෝ ප්‍රතික්‍රියා ලබන්නෙකු නොමැත. මෙම සංකීර්නතාවය නිසා සමහර අය අනත්ත සංකල්පය නිසි ලෙස අවබෝධ කරගැනීමට කැමැත්තක් නොදක්වයි. මේ අය, ආත්ම සංකල්පයට පක්ෂග්‍රාහීව සිටින අතර, එසේ පැවතෙන ආත්මය මොහොතෙන් මොහොත වෙනස් වෙන නොහොත් එය අනිත්‍යභාවයට යටත් වෙන ආත්මයක් යන අදහස ප්‍රකාශකිරීමෙන් ඔවුන් දරන මතය පැහැදිලි කිරීමට උත්සාහ කරයි. තවත් සමහරු හින්දු ආගමේ කියවෙන පරිදි ආත්මය යනු කෙනෙකු ආශ්‍රිතව තිබෙන ශක්ති කදම්බයකට සංසන්දනය කිරීමේ අවස්ථාද තිබේ. නමුත් මේ සියලු අදහස් බුදුන්වහන්සේගේ අනාත්ම අර්ථකථනයට බෙහෙවින්ම ප්‍රතිවිරුද්ධයි. අනත්ත සංකල්ප, ආත්මය හෝ මම යැයි හැඟීම මනඃකල්පිත මායාමය අදහසක් බව බුදුන්වහන්සේගේ ප්‍රකාශයයි.

ප්‍රශ්නය: මෙය පැහැදිලි කිරීමට ඔබට උදාහරණයක් කිව හැකිද?
පිළිතුර: උදාහරනයක් වශයෙන් අපි ශල්‍යකර්මයක් සදහා සම්පූර්ණයෙන්ම නිර්වින්දනය කර සිටින අවස්ථාවක් සලකා බලමු. අප හා සම්බන්ධ ආත්මයක් හෝ මම යැයි කෙනෙකු සිටී නම් අප නිර්වින්දනය කළ විට එයට කුමක් සිදුවේද? මෙහිදී මානසික ක්‍රියා මොළයේ විරහිත බැවින් ආත්මය හෝ මා යැයි යනුවෙන් හැඟීම් ගෙන දෙන කිසිවක් මෙම තත්වය යටතේ නොපවතී. එම නිසා සෛල වලින් සැදි ශරීරය පමනක් මිස මා හෝ ආත්මයක් නොපවතින බව පෙනී යයි. මෙම අවස්ථාවෙන් අපි අවදි වීමෙන් පසු, අපේ පංච ඉංදීය මගින් සංඥාවන් මොළයට ගලා යන අතර මොළයේ මානසික ක්‍රියා සැකසීම් යළිත් ක්‍රියාත්මක වේ. මෙලෙස සිදුවන මොළයේ

ප්‍රතිජනන ක්‍රියාකාරිත්වයන් නිසා ශනිකවම එවැනි ක්‍රියාවල නිරත වෙන කෙනෙක් ඇති බව දැනෙන සිතුවලි නිර්මාණය වේ. නමුත් එම මම කේන්ද්‍ර සිතුවිලි නිර්මානය, මොලයේ ක්‍රියාවලියන්ගේ ප්‍රතිපලයන් නිසා පමනක් සිදුවන බව වටහා ගත යුතුයි. අපේ සිතුවිලි උත්පාදනය සඳහා මිලියන ගනනින් මොලයේ සෛල උපකාරී වන නමුත් එම සෛල අතරින්වත් මම යයි හඳුන්වාදිය හැකි සෛල හෝ සෛල පද්ධතීන් සොයාගත නොහැක. මම යන හැගීම මොලයේ සිදුවන ක්‍රියාවලීන්ගේ ප්‍රතිඵලයක් පමනකි.

අප නින්දෙන් සිටින විට අපගේ මොළයේ චින්තන ක්‍රියාවලිය, අවස්ථා දෙකක පැවතිය හැකිය. එක අවස්ථාවක් වනුයේ ගැඹුරු නින්ද හෙවත් තදනින්දය. තදනින්ද අවස්ථාවලදී මොළයේ සිතුවිලි හට ගන්නා ක්‍රියාවලියන් අක්‍රීය තත්වයක පවතී. එම නිසා සිතුවිලි හට නොගනී. තදනින්ද, ඉහත සාකච්චාකල නිර්චින්දන අවස්ථාවට සමානය. එම නිසා සිතුවිලි නිෂ්පාදනක් නොමැත. අනිත් නිදි අවස්ථාව ගැඹුරු නින්දේ සිටින අවස්ථාවට වඩා වෙනස්ය. මේම නිදි අවස්ථාවේදී පංච ඉන්දීය වලින් ලැබෙන භාහිර සංඥා මොලයේ අවධානයට යොමු නොවන මුත් මොළයේ සිතුවිලි උත්පාදනය වේ. මෙම සිතුවිලි උත්පාදනය වීමට මුලික හේතුව වන්නේ අපේ මතකයේ ඇති අතීත දත්තයන් සංඥා ලෙස සිතුවිලි ඇතිකිරීමේ සිතීම් පද්ධතියන්ට ඇතුල්වීමයි. අපට සිහින ලෙස පෙනෙන්නේ හෝ දැනෙන්නේ මෙසේ උත්පාදනය වන සිතුවිලිය. සිහින දකින අවස්ථා තුළදී, සිතුවිලි ක්‍රියාව සක්‍රියව නිර්මාණය වන නිසා, සිහිනයන් තුළ පවා එයට සහභාගී වන ‘‘මම’’ යන ව්‍යාජ හැඟීම ඇතිවීම විශේෂ ලක්ෂණයකි. අපි සිහින තුලින් දකින **සමහර** මනස්කල්පිත අතාත්වික දෑ අපගේ මොලයේ මතක අංශයේ තැන්පත් වීමද නොවැලක්විය හැකි කරුනකි. මෙසේ වීම නිසා අපගේ මතකයේ සැමවිටම තිබෙන්නේ තාත්වික මෙන්ම අතාත්වික කරුනු බව අවබෝධ කරගත යුතුයි.

අපගේ සිතුවිලි උත්පාදනය කිරීමේ ක්‍රියාවලියට මඳක් ගැඹුරට අධීක්ෂණය කළහොත්, සෑම මොහොතකම සිතුවිල්ලක උපත සිදුවී ඉන්පසු එහි අවසානයද සිදු වේ. සිතුවිලි ඇතිවීම අඛණ්ඩව සිදු වන තාවකාලික ක්‍රියාවලියකි. මොහොතින් මොහොත මොළයේ සිදුවන මානසික හැඟීම් වල වින්දනය නිසා මම යැයි කෙනෙකු සිටින බම නිර්මාණය කරන මම මායාමය වටහා ගැනීමක් පමනය.

ප්‍රශ්නය: එසේ නම් කර්ම ධාරියා කවුද?

පිළිතුර: එයට පිළිතුරු දීමට පලමුව, ආත්මයක් හෝ මම යන හැඟීමේ මායාකාර භාවමය යථාර්ථය අවබෝධ කර ගැනීම බෞද්ධ ධර්මයේ ගැඹුරු හරයක් මෙන්ම අභියෝගයක්. හින්දු ආගමේ ‘‘ආත්ම’’ න්‍යාය බුදුන්වහන්සේ තරයේ ප්‍රතික්ෂේප කළ න්‍යායයක් වුවත් එය එකල ජනතාව විසින් පිළිගත් ජනප්‍රිය සංකල්පයක්. නමුත්, පස්වග මහනුන් හින්දු විශ්වාසයන් අතහැර දමා බුදුන්ගේ ධර්මය පිළිගැනීමට තීරණය කළ ප්‍රධාන හේතුව සහ රහත්බවට පත්වීමට හේතුවත් ඔවුන් අනත්ත සංකල්පය අවබෝධ කර ගැනීමයි. අප මුලදී සාකච්ඡා කළ පරිදි ඔවුන්ගේ ජීවිත කාලය පුරාම තිබූ ආත්ම සංකල්පය මත වූ විශ්වාසය පසෙකට දමා, අනත්ත සංකල්පය ආදේශකයක් ලෙස පිළිගැනීම ඔවුන්ට දැවැන්ත මානසික කර්තව්‍යයක් වන්නට ඇති බව අප තේරුම් ගත යුතුයි. එසේම ඔවුන්ගේ එම අවබෝධය බුදුන්වහන්සේ ලැබූ විශිෂ්ට ජයග්‍රහනයක් ලෙසද සැලකිය යුතුයි.

බෞද්ධ සාහිත්‍යයේ අනත්ත සංකල්පය ගැන සඳහනක් මෙලෙසද ඇත: ‘‘මෝඩ මිනිසා තුල තමා යන අදහස පිළිසිඳ ගනී. තමා යන අදහස ගොඩනගා ගැනීමට කිසිදු පදනමක් නොමැති බව බුද්ධිමත් මිනිසා දකී. ආත්මය හෝ තමා යන මායාමය ස්වභාවය පිළිබඳ සත්‍යය පිළිගැනීමෙන් මිනිසෙකු දුක් විඳීමෙන් නිදහස් වනු ඇත.’’

කර්මය දරන්නේ කවුරුන්ද යන්න පිළිබඳ ඔබේ ප්‍රශ්නයට පිළිතුරක් හැටියට මට කිය හැක්කේ, එම ප්‍රශ්නයේ "කවුද" යන වචනය ඇතුළත් කර ඇති නිසා "කර්මය දරන්නේ කවුද?" යන ප්‍රශ්නයේ තේරුමක් නැති බවයි. මා මෙය සඳහන් කරන්නේ බුදුන්වහන්සේ බොහෝ අවස්ථාවන්හි දී මෙම ප්‍රශ්නයට වදාළ තර්කය උපුටා ගැනීමෙනි. ඔබේ ප්‍රශ්නයේ "කවුද" යන වචනය තිබෙන නිසා එයට පිළිතුරක් ගොඩනැගීමට නොහැක. **අවිජ්ජාපච්චයා සූත්‍රය** 'කවුද' යන වචනය සම්බන්ධව ඇති මෙම ප්‍රශ්නයේ අවලංගු භාවය පැහැදිලි කරයි.

ප්‍රශ්නය: එසේනම්, කර්ම සංකල්පය ඔබ විශ්වාස කරන්නේ නැද්ද?
පිළිතුර: ඒ ප්‍රශ්නය ඔබ අසයි යැයි මම බලාපොරොත්තු වුනා. උදාහරනයක් ලෙස ඉගෙනීමේ දුෂ්කරතා ඇති ළමයෙක් සලකන්න. කිතුනු දෙමාපියෙක් මෙයට හේතුව දෙවියන් වහන්සේගේ කැමැත්ත ලෙස පැහැදිලි කරයි. බෞද්ධ දෙමව්පියෙක් එය කර්මය නිසා යැයි පැහැදිලි කරන්ට පුළුවන. මේ දෙකම ඔප්පු කළ හැකි හෝ ප්‍රතික්ෂේප කළ නොහැකි පිළිතුරු වුවත් බොහෝ මනස්වලට සැපයිය හැකි සැනසිලිශීලී විශ්වාසයන්ය. බුදුන්වහන්සේ සැනසිලිදායක ධර්මයක් දේශනා කළේ නැත. බුදුන්වහන්සේ අප සියලුදෙනාටම දුන් උපදෙස වූයේ විවෘත මනසකින් කරුනු විශ්ලේෂණය කරන ලෙසටය.

මෙම පැරණි හින්දු කර්ම සංකල්පය පිළිබඳව මගේ විවෘත මතය ප්‍රකාශ කිරීම සඳහා සමහර බෞද්ධ ඉගැන්වීම් නිරුපනය කරමින් අදහස් කිහිපයක් සඳහන් කරන්නම්. කර්මය යන වචනයේ අර්ථය ක්‍රියාවක් යන බවයි. ක්‍රියාවන් යනු සිතුවිලි, හැඟීම් සහ වාචිකව හෝ ශාරීරිකව කල හැකි ක්‍රියාවන්ය. කර්මයේ ප්‍රතිඵල කර්ම-විපාක ලෙස හැඳින්වේ. නමුත් බෞද්ධ ඉගැන්වීම්වල කර්මය විග්‍රහ කරනුයේ 'චේතනාන්විත' ක්‍රියාවන් වලටය. අපි හිතාමතාම යම් දෙයක් කල විට, එම දෙයට සම්බන්ධ කරුණු අපගේ මොළයේ මතක අංශයට එකතු විය හැක. එම මතකය පහත සඳහන් උදාහරණවල ආකාරයට කර්ම-විපාක

හැටියට අපේ ජීවිතයට බලපෑමට හැකිය. ඔබ පලතුරු විකුණන්නෙකු යැයි සලකන්න. යමෙකු ඔබෙන් නාරං ගෙඩි 25ක් ඉල්ලයි. ඔබ හිතාමතාම බෑගයට නාරං ගෙඩි 24ක් දමා ගෙඩි 25කට මුදල් ලබාගත්තා යයි සිතමු. ඔබ ඉතා අවංක ලෙස හැදී වැඩුනු පුද්ගලයෙකු වූවත්, මෙම වංචනික චේතනාන්මක ක්‍රියාව වරින් වර ඔබේ මතක අංශයෙන් ඔබේ මනසට එනු ඇත. එසේ මනසට එන හැම විටම එය ඔබ තුළ වරදකාරී හැඟීමක් ඇති කරයි. එම වරදකාරී හැඟීම මතක් වෙන හැම අවස්ථාවම ඔබ පීඩාවට පත්වෙයි. දෙමව්පියන් ඝාතනය කිරීම වැනි කර්මයන් බුදුන්වහන්සේ විසින් වර්ගීකරණය කරනු ලැබුවේ එවැනි කර්ම වල විපාක එම ජීවිත කාලය තුළම විදීමට සිදුවෙන බවටය. ඒවැනි බරපතළ අප්‍රසන්න ක්‍රියාවකට පසුව පැහැදිලිවම එම පුද්ගලයාගේ මතකය නොකඩවාම ඔහුට අදික මානසික පීඩනයකට යටත් නොකරනවානම් එවැනි අයෙක් සාමානය කෙනෙකු නොව උන්මන්තයෙකු විය යුතුයි. මේ හා සමානව, ඔබ හිතාමතාම කර ඇති යහපත් ක්‍රියාවන්ද ඔබ ඒ ගැන සිතන සෑම මොහොතක් පාසාම ඔබට ප්‍රසන්න හැඟීම් ගෙන දෙයි. කර්ම සහ විපාක මේ අන්දමට තේරුම් ගැනීම අර්ථවත් යැයි මට සිතේ. නමුත්, ඔබ ලොතරැයියක් දිනාගත් විට, එය ඔබ අතීතයේ කළ ක්‍රියාවකට සම්බන්ධ කිරීම උමතු සහගත අදහසක් ලෙස මා සලකන්නේ පැහැදිලිවම එහි කිසිම තාර්කික භාවයක් නැති නිසාය. ඔබ බිම වැටීම නිසා අත කැඩුණහොත්, එය මීට පෙර සිදු කළ නරක ක්‍රියාවකට සම්බන්ධ කිරීම මනස්ගාත පටු චින්තනයක් යැයි මගේ හැඟීමයි.

ප්‍රශ්නය: බුදුන් සමයේදී අනත්ත සංකල්පය බෞද්ධ ප්‍රජාවන් තුළ පුළුල් ලෙස සාකච්ඡා නොවූයේත්, එයට ප්‍රතිවාදී පුනරුප්පත්ති සංකල්පය ධර්මයෙන් බැහැර නොවුනේත් මන්ද?

පිළිතුර: එය දැවැන්ත ප්‍රහේලිකාවක් නොවේද? මෙයට පිළිතුරු දීම සඳහා බුදුන්වහන්සේ තම ධර්මය අන් අයට දේශනා කරනවාද නැද්ද යන ප්‍රශ්නය ගැන පලමුවෙන්ම සිතූ අවස්ථාව වෙත අපේ අවධානය යොමු කරමු. එම අවස්ථාවේදී බුදුන්වහන්සේ මුලින් තම ධර්මය අන් අයට දේශනා කිරීමට පසුබට විය. නමුත් විවිධ අදියරවල පොකුණේ තිබූ නෙළුම් මල් සහ පොහොට්ටු බුදුන්ගේ අවධානයට හසු වූ පසු එම පුළුල් දැක්ම විවිධ අදීරවල සිටින මිනිසුන්ගේ බුද්ධිමය හැකියාවන්ට සංසන්දනය කිරීමට හැකිවිය. එබැවින්, බුදුන්වහන්සේගේ ධර්මය විවිධ බුද්ධිමය හැකියාවන් ඇති අයගේ අවබෝධයට ගැලපෙන පරිදි සකස් කිරීමට අවශ්‍ය වීමක් සිදුවන්නට ඇති බව අපි පලමුවම ඒත්තු ගත යුතුයි.

කුඩා කල සිටම අපගේ මනස වර්ධනය වන්නේ කෙසේද යන්නත්, කුඩා අවදියේ සිට ක්‍රමයෙන් වැඩිහිටි අවදියට වර්ධනය වී තිබෙන සංකල්පමය විශ්වාසයන් වෙනස්කිරීමට ඇති මහගු මානසික අපහසුතාවයත් අප තේරුම් ගත යුතුයි. බුදුන් සමයේ අතලොස්සක් හැර ඉන්දියාවේ සිටි සියලු දෙනාම පාහේ පුනරුත්පත්තිය හා කර්ම සංකල්ප තදින්ම විශ්වාස කළ අය වූහ. එම නිසා බුදුන්වහන්සෙගේ සාර ධර්ම වූ චතුරාර්ය සත්‍ය, ආර්‍යඅශ්ඨාංගික මාර්ගය සහ අනත්ත සංකල්පය ගැන පමණක් දේශනා කිරීමට යොමු වූයේ නම්, බොහෝ අය එම නව අදහස් වලට පමනක් අවදානය නොදක්වන්නට තිබුණු බව නිසැකයි. එසේ වුවා නම් කිසිදු බුද්ධාගමක් හෝ බෞද්ධ දර්ශනයක් අද ඉතිරි නොවන්නටද හැකියාවක් තිබිණි. අප ජීවත් වන නූතන විද්‍යා යුගයකදී පවා, අප මනෝභාවයේ ස්වාභාවික ප්‍රවණතාවය වන්නේ මරණයෙන් පසු යම්

ආකාරයක පැවැත්මක් විශ්වාස කිරීම, දෙවියන් හෝ දෙවිවරුන් වැනි අද්භූත බලයන්ගෙන් අනුග්‍රහය ලබා ගැනීම වැනි පොදු මානුෂික ලක්ෂණයන්ය. සමහරු ගස් හා පූජනීය ස්ථානවලට නමස්කාර කරන්නෙත් මෙවැනි බලාපොරොත්තු සහගත විශ්වාස නිසාය. බොහෝ අය උපතින්ම වාගේ අද්භූත බලයන් විශ්වාස කිරීමට නැඹුරුවීමක් ඇත. විද්වතුන් මෙයට හේතූන් ලෙස අපගේ පරිණාමීය ගති ලක්ෂණ අපට උරුම වී තිබීම සහ අපේ ප්‍රජාවන්ගේ සමාජ චර්යාත්මක බලපෑම් පෙන්වා දෙයි.

බුදුන්වහන්සේ මෙවැනි මානව සාධක හොඳින් වටහා ගත් ශාස්තෘවරයෙකි. මානුෂික ලක්ෂණයන් පිළිබඳ පුළුල් අවබෝධයක් තිබූ හෙයින්, අනත්ත සංකල්පය සියලු දෙනා අතරට පොදුවේ ගෙනයෑමට අපහසු බව බුදුන්වහන්සේට ප්‍රත්‍යක්ෂ වී තිබෙන්නට ඇතැයි සිතිය හැක. මෙහි ප්‍රතිඵලයක් වශයෙන් විවිධාකාර බුද්ධි මට්ටම් වල සිටි අනුගාමිකයින්ට ගැලපෙන පරිදි සිය ධර්මය සුදුසු ලෙස සකස් කිරීමක් සිදුවන්නට ඇති බව උපකල්පනය කල හැකි අතර විවිධ සූත්‍ර දේශනා තුලින් මෙම තර්කය පැහැදිලිව පෙනී යයි. සමහර බෞද්ධ මූලධර්ම පොදු ජනතාවගේ මනස් තුළට ගැඹුරු ලෙස විනිවිද යාම සඳහා බුදුන්වහන්සේ "ජාතක කතා" වැනි මිථ්‍යා කතා යොදා ගෙන ඇති අතර, අනත්ත සංකල්පය වැනි සංකීර්ණ ධර්ම පැහැදිලිවම මෙම කථා තුල ඇතුළත් කර නොමැත්තේද හේතු සහගතවය. මෙම කථා වල අරමුණ මුලිකව බොහෝ දෙනාගේ සදාචාරාත්මක ගුණධර්මයන් වර්ධනය කිරීම පිනිස නමුත් සමහරුන් මේ දෑ සත්‍ය සිද්ධීන් ලෙස සැලකීමේ පටු හේතූන්ද අප වටහා ගත යුතුය.

බුදුන්වහන්සේ එවකට තිබූ කර්ම සංකල්පයද නව මට්ටමකට පුළුල් කලේය. මෙම වැඩි දියුණු කිරීම කරනු ලැබුවේ එවකට කර්මය පිළිබඳ විශ්වාසය මිනිස් මනස කෙරෙහි ගැඹුරු බලපෑමක් ඇති කර තිබුන නිසා බව මගේ හැඟීමයි. වෙනත් ආගමික අනුගාමිකයන්ද මෙම සංකල්පය කෙරෙහි යම් අන්දමක

ස්වාභාවික නැඹුරුවක් ඇති බව නොරහසකි. එයට හේතුව කර්ම සංකල්පය බොහෝ අවස්ථාවන්ට හේතු ඵල ධර්මයක් ලෙස තර්කානුකූලව යෙදිය හැකි සැනසිලිදායී හෝ සාධාරණීකරණීය මානසික සහන ගෙන දිය හැකි විශ්වාසයක් නිසාය. මෙලෙසම දිව්‍යලෝක සහ අපාය යන සංකල්පයද බෞද්ධ දේශනා වලට ඇතුළත් කිරීමට හේතුවුයේ මෙම සංකල්ප අපගේ කෙටි මානව ඉතිහාසයේ දීර්ඝ අතීතයක් තිස්සේ පැවත එන පොදු විශ්වාසයන් වීම නිසා බව මගේ හැඟීමයි. මේ සංකල්ප මිථ්‍යාමය වුවද මනුෂ්‍ය ජීවිත තුළ සදාචාරාත්මක මූලධර්ම ප්‍රවර්ධනය කිරීම සඳහා සියලු ආගම් උපයාත්මකව උපයෝගී කර ඇතිබව පැහැදිලිය.

ප්‍රශ්නය: එසේ නම්, ධර්ම සාරයන් ගෙන් බැහැර වූ එකල පැවිති සංකල්ප බෞද්ධ ධර්මය එකතුකර ඇත්තේ නොයෙකුත් බුද්ධි මට්ටම් වල සිටි අයගේ මානසික අවශ්‍යතා සපුරාලීම සඳහා බුදුන්වහන්සේ හිතාමතා කල සකස් කිරීමක් යැයි ඔබ සිතනවාද?

පිළිතුර: නිසැකවම එසේ සිතිය හැකියි. බුදුන් විසින් අන්තර්ගත කරන ලද හින්දු සංකල්ප එවකටත් බොහෝ අනුගාමිකයින්ගේ විශ්වාසයන්ට අනුබද්ධ කර තිබූ නිසා, බෞද්ධ ධර්මය වැලඳ ගැනීමට අපේක්ෂා කල අනුගාමිකයන්ට තමන්ට සුපුරුදු විශ්වාසයන් බෞද්ධ ධර්මයේ අන්තර්ගත වීම ඔවුන්ට බෙහෙවින් රුකුලක් විය. බුදුන්වහන්සේගේ මුලික අභිප්‍රාය වූ දුක ඉපදීම දුරුකිරීමෙහි මාර්ග ක්‍රමවේදය ව්‍යාප්ත කිරීමට මෙම හින්දු සංකල්පයන් හානිකර නොවූ අතර එම සංකල්ප ඕනෑම ආගමකින් සමාජයට ලබාදිය හැකි සදාචාරාත්මක ගුණ ධර්ම ප්‍රවර්ධන ලක්ෂණය අදටත් කාටත් උපකාරී වන බව වටහා ගත යුතුය.

## පුනරුත්පත්තිය සහ අනත්ත සංකල්පය පිළිබඳ විමසුම්

ප්‍රශ්නය: පුනරුත්පත්තිය සහ අනත්ත සංකල්පය නිසා මතුවුණු පරස්පර විරෝධී අදහස් බුදුන් සමයේ භික්ෂූන් අතර ප්‍රශ්න හෝ ඒ පිලිබඳ අවිනිශ්චිත බවක් ඇතිවූ අවස්ථා ත්‍රිපිටකයේ සඳහන් වී නැද්ද?
පිළිතුර: බෞද්ධ ග්‍රන්ථවල, මෙම කාරණය සම්බන්ධයෙන් මතභේද වලට තුඩු දී තිබු අවස්ථා කීපයක් සඳහන් වී ඇත.

ප්‍රශ්නය: ඔබට එම අවස්ථා විස්තර කළ හැකිද?
පිළිතුර: බුදුන්වහන්සේ පිළිතුරු නොදීමට තීරනය කර තිබූ ප්‍රශ්න 10 ක් ගැන බෞද්ධ ග්‍රන්ථවල සඳහන් වෙයි. බුදුන් මරණින් පසු නැවත ඉපදෙනවාද? යන ප්‍රශ්නයද එම ප්‍රශ්න දහයෙන් එකකි. කෙසේ වෙතත්, මෙම ප්‍රශ්නය බුදුන් සමයේදී අනුගාමිකයන් බොහෝ දෙනෙකු විසින් නැවත නැවතත් මතු කරමින් ඔවුන් අතර සාකච්ඡා කර ඇතිබව සඳහන් වේ. විශේෂයෙන්ම මෙම ප්‍රශ්නය බුදුන්වහන්සේගේ සමීප ඥාති සහෝදරයෙකු වූ අනුරුද්ධ රහතන්වහන්සේගෙන් බුද්ධිමත් සංචාරකයෙකු ඇසූ ප්‍රශ්නමය සිද්ධියක් ඇසුරින් වූ සාකච්ඡාව විශේෂ සිද්ධියක් ලෙස සැලකිය හැකිය. අනුරුද්ධ රහතන්, බුදුන්වහන්සේගේ ශෛලය අනුකරණය කරමින් ප්‍රශ්නවලට පිළිතුරු සපයන අයෙක් ලෙස කීර්තියක් ඉසිලූ රහතන්වහන්සේ කෙනෙකි. ආනන්ද හිමිපානන් මෙන්ම අනුරුද්ධ රහතන්වහන්සේද බුදුන්වහන්සේ සමග දිගටම නේවාසිකව එකට ඇසුරු කල අයකි. බුදුන්වහන්සේගේ මරණයෙන් පසු නැවත ඉපදෙන්නේ දැයි සංචාරකයා ඇසූ ප්‍රශ්නයට අනුරුද්ධගේ පිලිතුර වූයේ "බුදුන් වහන්සේ මරණයෙන් පසුව පවතී; මරණයෙන් පසු නොපවතී; මරණයෙන් පසු පවතී හෝ නොපවතී; මරණයෙන් පසු පවතීනවා මෙන්ම නොපවතී" යනුවෙනි. නිසැකවම, එය අවුල් සහගත පිළිතුරකි.

කෙසේ වෙතත්, එම සංචාරකයා දැක්වූ ව්‍යාකූල සහගත ප්‍රතිචාරය නිරීක්ෂණය කිරීමෙන් පසු අනුරුද්ධට ඔහුගේ පිළිතුරේ නොපැහැදිලි බාවය ගැන සැකයක් ඇති විය. එය අනුරුද්ධගේ සිතට නිතර කරදරයක් වූ බැවින්, තමා එය නිවැරදි කර ගත යුතු යැයි තීරණය කළේය. එබැවින් අකමැත්තෙන් වුවද ඔහුගේ පිළිතුර පිළිබඳව පැහැදිලි කිරීමක් බුදුන්වහන්සේගෙන් ලබා ගැනීමට ඔහු තීරණය කළේය.

ඒ පිලිබදව බුදුන්වහන්සේ අනුරුද්ධට පිලිතුරක් වදාළේය. බුදුන්වහන්සේ සිය පිළිතුර පදනම් කරගත්තේ අනුරුද්ධයන්ගෙන් පංචස්කන්ධය ගැන විමර්ශනය කිරීමෙන්ය. බුදුන්වහන්සේ අනුරුද්ධගෙන් පලමුව විමර්ශනය කළේ, පංචස්කන්ධයේ කුමන ස්කන්ධය බුදුන්වහන්සේ හැටියට අර්ථ දැක්විය හැකිද යන්නයි. එසේ එක ස්කන්ධයක් තෝරාගැනීම වැරදි බව අනුරුද්ධ පිලිතුරු දුන් විට, එසේ නම් එම ස්කන්ධයන් පහේ කිසියම් සංයෝජනයක් හැටියට බුදුන්ව අර්ථ දැක්විය හැකිදැයි බුදුන්වහන්සේ අසන ලදී. එයද වැරදි අදහසක් බව අනුරුද්ධ පිලිතුරු දීමෙන් පසුව, බුදුන් යනු එම සියල්ලේම එකතුවදැයි බුදුන්වහන්සේ අනුරුද්ධ ගෙන් ප්‍රශ්න කරන ලදී. එම විකල්ප තුනෙන් එකක්වත් බුදුරජාණන් වහන්සේ නොවන බව අනුරුද්ධ පිළිතුරු දුන් විට, “යථාර්ථයක් හැටියට බුදුන්වහන්සේ නමින් කිසිවෙකු නොමැති බැවින් මරණින් මතු ජීවිතය ගැන පිළිතුරක් දෙන්නේ කෙසේද යැයි?” බුදුන්වහන්සේ අනුරුද්ධට පැහැදිලි කර දුන්නේය.

අප පෙරදී සාකච්චා කල පරිදි බුදුන් වහන්සේ මෙයින් ඇඟවූයේ “පරමාර්ථ සත්‍යය” යන විග්‍රහය මත යථාර්ථයක් හැටියට මම යැයි හැදින්වීමට කිසිවෙකු නොමැති බැවිනි. බුදුන්වහන්සේ පිළිතුරු නොදී සිටීමට තීරණය කළ ප්‍රශ්න 10 න් මෙය එකක් වුවත් බුදුරජාණන් වහන්සේ මෙම ප්‍රශ්නයට මේ මොහොතේ පිළිතුරු දුන්නේ මන්දැයි අප ඇගයීමට ලක් කළ යුතුය. අනුරුද්ධ රහතන්වහන්සේ සංචාරකයාට දුන් මුල් පිළිතුර, පසුකාලීනව බොහෝ අය

ව්‍යාකූලත්ව තත්වයකට පහසුවෙන්ම පත්කිරීමට ඉඩ තිබූ හෙයින් බුදුන්වහන්සේ එම තත්වය වැලැක්වීම සඳහා අකමැත්තෙන් වුවත් එයට පිළිතුරක් සැපයීමට පෙලබෙන්නට ඇති බව මගේ අදහසයි.

ප්‍රශ්නය: මෙම ප්‍රශ්නය බෞද්ධ ග්‍රන්ථවල වෙනත් අවස්ථාවලදී සඳහන්ව තිබේද?

පිළිතුර: ඔව්, මෙම ප්‍රශ්නය මතුකල අවස්ථා කිහිපයක් සඳහන් වේයි. බුදුන්වහන්සේ මෙම ප්‍රශ්නයට පිළිතුරු දීමෙන් වැලකී සිටි නිසා බුදුන්වහන්සේ අනුරුද්ධ රහතන්වහන්සේට පැවසූ පිළිතුරේ ව්‍යුහය භාවිතා කරමින් එකල සිටි සුප්‍රසිද්ධ භික්ෂූන් වහන්සේලා කිහිප දෙනෙකු අනිත් ශ්‍රාවකයන්ට මෙලෙසම පිළිතුර දී ඇත. **යමක සූත්‍රයේ** සඳහන් වන පරිදි, බුදුන්ගේ අග්‍ර ශ්‍රාවකයෙකු වූ සාරිපුත්ත රහතුන්ගෙන් යමක නම් ශ්‍රාවකයා මෙම ප්‍රශ්නය ඇසූ විට උන්වහන්සේගේ පිළිතුර වූයේ බුදුන් විසින් අනුරුද්ධට වදාළ පිළිතුරම විය. සිත්ත නම් බුද්ධිමත් උපාසක, මරනයට පසු ජීවිතය ගැන ඉසිදත්තගෙන් ඇසූ ප්‍රශ්නයට පිළිතුරක් වශයෙන් මේ තර්කයම උපයෝග කර ඇත. මෙම ප්‍රශ්නය ගැන **බ්‍රහ්මජාල සූත්‍රයේද,** සංයුත්ත නිකායෙහි ඇති **බහර** සහ **කඤ්ඤනීය සූත්‍ර** වලත් සඳහන් වේ.

මහාකස්සප යනු ඉතාමත්ම බුද්ධිමත් රහතුන්වහන්සේ කෙනෙක් ලෙස බුදුන්වහන්සේ පවා පුද්ගලිකව සඳහන් කර ඇත. **පරමාරන සූත්‍රයේ** සඳහන් පරිදි, මරණයෙන් පසු බුදුන්ට කුමක් සිදුවේදැයි සාරිපුත්ත රහතන් වරක් මහාකස්සප රහතන්ගෙන් ඇසීම විශේෂ මෙන්ම අසමාන්‍ය සිද්ධියක් ලෙස සැලකිය හැකිය. සාරිපුත්ත රහතන් හට මහාකස්සප රහතන් දුන් පිළිතුර වූයේ බුදුන්වහන්සේ මේ සම්බන්ධයෙන් විශේෂ ප්‍රකාශයක් කර නොමැති බවය. එසේ නොකලේ මන්දැයි සාරිපුත්ත ඇසූ විට මහාකස්සප පැවසුවේ "ලෞකිකත්වයෙන් ඈත් වීමටවත්, අභ්‍යන්තර සාමය ඇතිකිරීමට, දැනුම

වර්ධනය කිරීමට, දුක නැතිකිරීමටත්, බුද්ධත්වය සහ නිවන් අත්පත් කිරීමටත් මෙම ප්‍රශ්නයෙන් කිසිදු ප්‍රයෝජනයක් නැති නිසා බවය."

ප්‍රශ්නය: බුද්ධිමත් රහතන්වහන්සේලා වූ අනුරුද්ධ, සාරිපුත්ත සහ මහකස්සප වැනි රහතුන් වහන්සේලාට පවා මරණින් මතු ජීවිතය පිළිබඳ ප්‍රශ්න තිබූ බව මෙයින් පෙනීයනවා නේද?

පිළිතුර: ඔව්. එයින් අදහස් වන්නේ ඔවුන් රහතුන් වුවද ඔවුන්ටද නොවිසඳුනු ප්‍රශ්න සහ මරණින් මතු ජීවිතයට අදාළ සැකයන් තිබුණු බවය. **සාරිපුත්‍ර සූත්‍රයේ,** සාරිපුත්‍ර රහතන් විසින් බුදුන්වහන්සේගෙන් අසා ඇති නොයෙකුත් ප්‍රශ්න ගැන කියවීමෙන් ඔවුට තිබූ ප්‍රශ්න ගැන දැනගත හැක. බෞද්ධයින් සාමාන්‍යයෙන් විශ්වාස කරනු ලබනුයේ රහතුන්ට අනාගතය පුරෝකථනය කළ හැකි බවය. නමුත් මෙම සිද්ධීන් එම අදහස් වල සත්‍ය බාවය අභියෝගයට ලක් කරනවා නොවේද? එම නිසා බෞද්ධ ග්‍රන්ථවල සඳහන් වන සමහර සාම්ප්‍රදායික උපකල්පන දෙස විවෘත මනසක් බැලීම වැදගත් වේ.

බුදුන්වහන්සේ අනුරුද්ධ රහතන්ට වදාළ පිළිතුර තවදුරටත් විමසා බැලුවහොත් මූලික වශයෙන් මෙම පිළිතුර අනත්ත සංකල්පය මත ගැඹුරින් පදනම් වී ඇතිබව පෙනීයයි. එහි අඩංගු තර්කානුකූල ව්‍යුහය බුදුන්වහන්සේට මෙන්ම, ඔබටත්, මටත් හෝ ඕනෑම කෙනෙකුට අනුයුක්ත කල හැකිය. අප කිසිවෙකු සමස්ථ පංචස්කන්ධ වල එකතුවක් හෝ එක ස්කන්ධයක් හෝ ස්කන්ධයන්ගේ සංයෝගයක් නොවෙන බැවින්, පරමාර්ථ සත්‍යක් වශයෙන් පුද්ගලයකු ලෙස කිසිවෙකු අර්ථ දැක්වීමට නොහැකි වන අතර, එම නිසා මරණින් මතු ජීවිතයක් ගැන කතා කිරීම තේරුමක් නොමැති බව පිලිගත යුතුය. සමාජීය පොදු විශ්වාසයක් මත සියලුම ආගම්වල මරණින් පසු උපතක් බලාපොරොත්තු වන නමුත් මෙම බෞද්ධ තර්කයෙන් ඇත්තවශයෙන් නිරූපනය වන්නේ මරණින් පසු නැවත උප්පත්තියක් නැති බව නොවේද?

ප්‍රශ්නය: ඔබේ තර්කය එසේ වුවත් ඈත අතීතයේ දී සිටි බුදුවරුන් 27 දෙනෙකු ගැනත්, අනාගත බුදුවරයෙකු ගැනත් බෞද්ධ ගන්ථ වල සඳහන් වේ. මෙම විස්තර යමෙකු නැවත ඉපදීමත් හෝ මරණින් මතු ජීවිතය යන සංකල්පය සනාථ කිරීමක් නොවේද?

පිළිතුර: එවැනි විස්තර බොහොමයක් ත්‍රිපිටකයේ සඳහන් වී තිබේ. අපි මේ දෑ ගැන විස්තරාත්මකව සලකාබලා එම ප්‍රකාශයන්ගේ නිරවද්‍යතාවය සහ බුදුන් විසින් මේවා සඳහන් කළේ ඇයිද යන්න ගැන විවෘත මනසකින් විමර්ශන කරමු.

අතීත බුදුවරුන් 27 දෙනා ගැන සඳහන් වන්නේ **මහාපදාන සූත්‍රයෙහිය**. ඇත්ත වශයෙන්ම මෙම සූත්‍රයට අනුව එම බුදුවරු ජීවත්ව සිට ඇත්තේ වසර දහස් ගණනකට පෙර නොව වසර මිලියන ගණන් වල අතීතයකය. එහි ඇති බොහෝ විස්තර අතර, අප කලින් සාකච්ඡා කළ හින්දු කුල ක්‍රමයට අනුව සකස් කර ඇති ලැයිස්තුවක එක් එක් බුදුවරුන් ඉපදුන සමාජ කුලයන්ද පැහැදිලිව සඳහන් කර ඇත. මෙම බුදුවරුන්ගෙන් බොහෝ දෙනෙක් බ්‍රාහ්මණ (පූජක) කුලයේ ද සමහරු ක්ෂත්‍රිය (වංශවත්) කුලයේද උපත ලබා ඇත. එසේම, මෙම සූත්‍රයේ ක්ෂත්‍රිය කුලයට අයත් ගෞතම බුදුන්වහන්සේ (28 වන බුදුන්) සහ අතීතයේ සිටි විපස්සි බුදුන් අතර බොහෝසෙයින් සම ලක්ෂණ තිබූ අය හැටියට සඳහන්ව ඇත. විපස්සි බුදුන්වහන්සේ මිනිස් ආයු කාලවලින් අවුරුදු 80,000 ක් ජීවත් වූ බව ද එහි සඳහන්ය. විපස්සි බුදුන් උපත ලබා ඇත්තේ මීට වසර මිලියන හෝ කෝටි ගණනකට පෙරය.

මෙම කරුණු නිවැරදි නම් ඔවුන්ගේ උපත් මෙම පෘථිවියේ සිදු නොවනු ඇත. මන්ද යත් අප දන්නා පරිදි පෘථිවියේ නවතම පුරාවිද්‍යාත්මක සොයාගැනීම් වලට අනුව අපේ පැරණිතම මානව ශිෂ්ටාචාරය අවුරුදු 8000 ක් තරම් කෙටිකාලකයට සීමා වීමය. අපේ මානව ඉතිහාසයට අනුව අපි ප්‍රාථමික දඩයම්කරුවන්ගෙන්, වගාකරන්නන් බවට පත්වූයේ මීට අවුරුදු 20,000 ක්

පමණ කෙටි කාලයකදීය. එබැවින් තර්කානුකූලව අනිවාරයෙන්ම පෘථිවිය විපස්සි බුදුන්වහන්සේගේ උපන් ස්ථානය නොවෙනබව පිලිගත යුතුය.

අතීත බුදුන්වහන්සේ කෙනෙකු ගැන **සටීකාර සූත්‍රයේ** සදහන් වේ. සටීකාර සූත්‍රයට අනුව, බුදුන්වහන්සේ වරක් කොසොල් නගරයේ ජනයා එහි ඇති නටබුන්ව තිබූ ස්ථූපයක් නමස්කාර කරන අයුරු දැක සිනහ පහල කලේය. ආනන්ද බුදුන්ගේ සිනහවීමට හේතුව විමසූවිට, එම ස්ථූපයේ වැදගත්කම නොදැන මිනිසුන් එසේ කරන බව පවසා එය පිලිබද විස්තරයක් වදාළේය. බුදුන්වහන්සේ ආනන්දට පැහැදිලි කළේ එය සටීකාර නම් කුඹල්කරුවෙකු විසින් කස්සප බුදුසමයේ කස්සප බුදුන් උදෙසා ඉදිකරන ලද ස්ථූපයක් බවය. අවුරුදු 8000 පමන වෙන අපේ කෙටි මිනිස් ශිෂ්ටාචාරයත් මිලියන ගනණක අතීතයකදී උපත ලැබූ කස්සප බුදුන් යුගය සලකා බැලීමේන් ඉහල සදහන් කථාව තර්කානුකූල නොවන බව පෙනී යනවා නොවේද?

අතීත බුදුවරුන් ගැන තවත් අන්දමකට සොයාබැලීම සදහා, අතීත බුදුවරුන්ගේ උපත් සිදුවී ඇත්තේ විශ්වයේ ඇති මිනිසුන් වාසය කල වෙනත් ග්‍රහලෝක දරාවක යයි මොහොතකට උපකල්පනය කරමු. මහාපදාන සූත්‍රය කලින් සදහන් කළ සියලුම බුදුවරුන් ඉපදුනු කුලයන් පැහැදිලිව පෙන්නුම් කරන නිසා, එක් එක් බුදුවරුන්ගේ උපතට පෙර වේදය හෝ හින්දු ආගම ඒ ඒම ලෝකවල ප්‍රථමයෙන් ස්ථාපිත වීමත් ඒ මගින් කුල ක්‍රමය එවන් ලෝකවලත් පූර්ව ස්ථාපිත කිරීමේ අවශ්‍යතාවයක් තිබීමත් තර්කානුකූලව පිලිගැනීමට සිදුවේ. ඉන්දියාවේ කුල ක්‍රමය ඇති වූයේ මැද පෙරදිග සිට ආර්යයන් ආක්‍රමණය කිරීමෙන් පසුවය. එම නිසා එවැනි ආක්‍රමන සිදුවීමේ අවශ්‍යතාවයත් අතීත බුදුවරුන්ගේ පැවැත්ම සනාත කිරීමට අවශ්‍ය යාදකයක් බවද සිතිය යුතුය. මෙවැනි තර්කානුකූල කරුණු මහාපදාන සූත්‍රයේ ඇති දෑ වල අවලංගුභාවය සහ මිථ්‍යා බාවය තවදුරටත් පිළිබිඹු කරයි.

එබැවින්, පදනම් විරහිත පූර්ව බුදුවරුන් පිළිබඳ ඇති කරුණු වල වලංගු භාවය තවතවත් සොයා ගැනීමට උත්සහ දරනවාටප වඩා, බුදුන්වහන්සේ විසින් මහාපදාන සූත්‍රය දේශනා කරන ලද්දේ මන්දැයි අප සිතා බැලිය යුතුය. මගේ පෞද්ගලික මතය වන්නේ, මේ ආකාරයේ කරුණු එකල සිටි බොහෝ අයට ඔවුන්ගේ භක්තිය සහ විශ්වාසයන් ශක්තිමත් කිරීම සඳහා උපකාර වූ ප්‍රවණතාවයන් හැටියටයි. **මහාපදාන සූත්‍රය**ට අනුව පදුමුත්තර බුදුන් සමයේදී ගෞතම බුදුන්වහන්සේ සිංහයෙකු ලෙස උපත ලබා සිටි අතර එකල අනුරුද්ධ සිටියේ අනුගාමික භික්ෂුවක් ලෙසටය. දම්මදාසී බුදුන් සමයේදී ගෞතම බුදුන් පැවත ඇත්තේ හින්දු ආගමේ සදහන් වන ඉන්ද්‍ර දෙවියන් ලෙසටය.

බුදුන් හා සමානව ජෛන ආගමේ මූලාරම්භකයා වූ ශාස්තෘ මහාවීර, තීර්ථංකාරවරුන්ගේ උපත් වල 24 වන ස්ථානයේ සිටි අතර ඊට සමාන අනුරූපයකට ගෞතම බුදුන්වහන්සේ 28 වන බුදුන් ලෙස සඳහන් වේ. මෙයින් පෙනීයන්නේ එකල තිබූ සමාජීය ඇදහීම් ශෙෂ්ත්‍රවල බුදුන්වහන්සේ වැනි ශාස්තෘවරුන්ගේ අතීත උපත් වටා ගෙතුනු පොදු ව්‍යූහමය විශ්වාස රටාවක් පැවති බවය. මා නියත වශයෙන්ම මෙම කථා සාහිත්‍යමය මිථ්‍යාවන් හැටියට සදහන් කිරීමට පෙලඹෙන අතර, පුරාවිද්‍යාත්මක සොයාගැනීම් සහ ලෝක ඉතිහාසය ගැන බුදුන් සමයේ ජනතාව දැන සිටියේ නම් බුදුන්වහන්සේ මහාපදාන සූත්‍රය දේශනා නොකරනවා නොවනුමානයයි මට හැගේ.

ඩයිනෝසෝර වර්ගයේ විශාල සතුන් විනාශ කළ උල්කාපාතය පෘථිවිය මතට නොවැටුනේ නම් අද මනුෂ්‍ය වර්ගයා මේ ලෝකයේ නොපතින බවද අපි තේරුම් ගත යුතුයි. එම උල්කාපාතය ක්ෂීරපායීන්ගේ ව්‍යාප්තියට සහ ඔවුන්ගේ පරිණාමයට මූලිකවම හේතුවූ බවත් එම නිසා මනුෂ්‍ය වර්ගයා බිහි වූ බවත්, මිනිසාගේ පැරණිතම ශිෂ්ටාචාරය අවුරුදු 8000 ක් පමණ කෙටිකාලයක් පමනක් බවත් මෙහිදී අපේ මතකයට යොමුවිය යුතුයි. මෙම කරුණු සියල්ලක්ම සම්පිණ්ඩනය කීරීමෙන් පෙනීයන්නේ මහාපදාන සූත්‍ර

දේශනාවේ අරමුණද ජාතක කථා දේශනා කිරීමේ අරමුණට සමානව අනුගාමිකයන්ගේ විශ්වාසය වර්ධනය කිරීම සඳහා දේශනා කරඇති සූත්‍රයක් බවය.

ප්‍රශ්නය: බුදුන්වහන්සේ නැවත ඉපදීම ගැන සඳහන් කල අවස්ථාව කුමක්ද?
පිළිතුර: මෙම ප්‍රශ්නයට පිළිතුරු දීම සඳහා බුදුන්වහන්සේ වදාළ සූත්‍රවල අනුපිළිවල දැන ගත යුතුය. බුදුන්වහන්සේ පස්වග මහනුන්ට දහම් දෙසුවාට පසු නිරත වූ දේ සහ දේශනා කල දේ ගැන සොයා බැලුවහොත් නැවත ඉපදීම් සම්බන්ධ සඳහන් වන අවස්ථා දැන ගත හැකි වේ.

**භික්ෂු ප්‍රජාව පිහිටුවීම**

ප්‍රශ්නය: බෞද්ධ ධර්මය පතුරුවා හැරීමට එකඟ වූ පස්වග මහනුන්ගේ සිද්ධියෙන් ඔබ්බට කුමක් සිදුවුවාද ගැන විමසීමෙන් එය සොයා බැලිය හැකිද?
පිළිතුර: ඔව්. පස්වග මහනුන්ට කළ ධර්ම සාකච්ඡාවට පසු වැසි සමය උදා වී තිබූ නිසා බුදුන්වහන්සේ පස්වග මහනුන් සමඟ ඉසිපතනයෙහි වැසි සමය ගත කළේය. මේ කාලය තුළ දී අසල්වැසි ධනවෙතුගේ තරුණ පුතෙකු අහම්බෙන් මෙන් බුදුන්වහන්සේ බැලීමට පැමිණියේය. ඔහු යස නම් විය. සුඛෝපභෝගී ජීවිතය ගැන කලකිරී සිටි ඔහුට බුදුන්වහන්සේ ත්‍යාගශීලිත්වය, සදාචාරය, භාවනාව, කාමුක වින්දනයේ ආදීනව, ධර්මය පිළිබඳ විස්තර පැහැදිලි කළේය. යස බුදුන්වහන්සේ දෙසූ ධර්මය ඇසීමෙන් පසු භික්ෂුවක් බවට පත් විය. තම පුතා සොයමින් පැමිණි යස ගේ පියා ද ධර්මය ශ්‍රවණයකිරීමෙන් පසු බුදුන්ගේ අනුගාමිකයෙකු බවට පත් විය. යසගේ පියා, බුදුන්වහන්සේ ඇතුළු පස්වග මහනුන් සහ පැවිදි බාවයේ සිටි නව භික්ෂුවට ඊළඟ දවසේ දිවා ආහාරය සඳහා තම නිවසට ආරාධනා කළේය. දිවා ආහාරය අවසානයේදී බුදුන් වහන්සේ වදාළ ධර්මය ඇසූ යස ගේ මිතුරන් පනස් හතර දෙනා භික්ෂූන්

බවට පත්විය. කෙටි කාලයක් තුළදී ඔවුන් සියල්ලන්ම රහත් බවට පත් විය. මේ සියල්ලන් සමඟ ධර්මය ව්‍යාප්ත කිරීමේ මෙහෙවර සඳහා රහතුන් හැට නමක් සිටියහ.

ප්‍රශ්නය: වැසි සමයෙන් පසු සිදු වූයේ කුමක්ද?
පිළිතුර: වැසි සමයේ අවසානයට පසුව බුදුන්වහන්සේ ඉසිපතනයේ සිට ආපසු බුද්ධත්වයට පත්වූ උරුවෙලාවට යාමට තීරණය කළේය. බුදුන්වහන්සේගේ අරමුණ වන්නට ඇත්තේ නෙරංජරා ගං ඉවුරේ අසබට ජීවත් වූ කස්සප සහෝදරයන් තිදෙන නිසා බව සිතිය හැකිය. ඔවුන් අනුගමනය කල දර්ශනය පිලිපැදි ගෝලයන් 1000 ක පිරිවරක් ඔවුන්ට සිටියහ. ඔවුන් අනුගමනය කලේ ගින්දර මුලිකව ගොඩනගා ගත් දර්ශනවාදයක්ය. සාරාංශාත්මකව කිවහොත් මෙහිදී බුදුන්වහන්සේ පළමුවෙන්ම සහෝදරයන් තිදෙනාගෙන් වැඩිමලා වූ උරුවෙල් කස්සපත් පසුව නදී කස්සප සහ ගයා කස්සපත් බුද්ධ ධර්මය ශ්‍රවණය කිරීමට එකග කර ගත්තේය. බුදුන්වහන්සේ ඔවුන්ට **ආදිත්තපරියාය සූත්‍රය** දේශනා කළේය. මෙය 3 වන සූත්‍රය ලෙස සටහන් වෙන අතර එහි සාරාංශයක් ලෙස එමගින් අපගේ ඉංද්‍රිය ප්‍රභවයන් මගින් සාදන ආශාව, කෝපය හා මායාවෙන් ගිනිදැල් සමඟ සැසඳීමක් කලේය. මෙම සූත්‍රය ශ්‍රවණය කිරීමෙන් පසු කස්සප සහෝදරයන් තිදෙනා සහ ඔවුන්ගේ අනුගාමිකයන් 1000 දෙනාම රහත් භාවයට පත්විය. මෙවැනි විශාල පිරිස් එක සූත්‍රයක් ශ්‍රවණය කිරීමෙන් රහත්බවට පත්වීමේ අවස්ථා බොහොමයක් බෞද්ධ සාහිත්‍යයේ සඳහන් වී ඇති අතර එසේ වීමේ සම්භාවිතාවය විවෘතව සිතිය යුතු බව හැගේ.

ඉන් පසු බුදුන්වහන්සේ උරුවේලා සිට සැතපුම් 30 ක් පමණ උතුරින් පිහිටි රාජගහනුවර සිටි බිම්බිසර රජු බැහැදැකීමට වැඩියහ. බුදුන්වහන්සේ ඊට පෙර සිට බිම්බිසාර රජු හොඳින් දැන සිටි අතර මෙම බැහැදැක්ම ඔහු දුන් පොරොන්දුවක් ඉටු කිරීම සඳහා විය. කස්සප සහෝදරයන් සහ නව භික්ෂූන්

වහන්සේලා 1000 දෙනා බුදුරජාණන් වහන්සේ සමඟ විය. රජු සහ මාළිගාවේ සිටි අය බුදුන්වහන්සේ කස්සපගේ අනුගාමිකයෙකු වී ඇත්දැයි සැකයක් පහලවිය. මෙය වටහාගත් උරුවෙල් කස්සප, ඔවුන් බුදුන්ගේ අනුගාමිකයන් බවට පත්වූ බව ප්‍රකාශ කළේය. බිම්බිසාර රජු මෙහිදී බුදුන්ට වේළුවනාරාමය පිළිගැන්වීය.

බුදුන්වහන්සේ මෙම ආරාමයේ ටික කලක් වැඩ සිටියහ. මේ කාලය තුළ කෝලිත සහ උපතිස්ස යන මිතුරන් දෙදෙනා බුදුන්වහන්සේගේ ධර්මය ශ්‍රවණය කිරීමෙන් පසු පැවිදි වූයේ සාරිපුත්ත සහ මහමොග්ගල්ලාන යන නම් වලින්ය. ඔවුන් ඇසුරුකල තවත් 250 දෙනෙකු භික්ෂුන් බවට පත්විය. උපතිස්ස මුලින්ම බුද්ධ ධර්මය අසන්නට ලැබුණේ පස්වග මහණුන්ගේ කෙනෙක් වන අස්සජී රහතන් මගිනි. සාරිපුත්ත සහ මහමොග්ගල්ලාන කෙටි කාලයකදී රහත් බවට පත්විය. රහත් බාවයට පත්වීම සඳහා සාරිපුත්ත මහමොග්ගල්ලානට වඩා වැඩි කාලයක් ගත කළේය. මෙසේ වීමට හේතු වූයේ ඔහු රහත්වීමට පෙර ධර්මයේ විශ්ලේෂණාත්මක කරුණු තේරුම් ගැනීමට කාලය මිඩංගු කල නිසා යැයි සඳහන් වේ.

මෙම අවස්ථාවේදී බුදුන්වහන්සේ තම අග්‍රශ්‍රාවකයන් දෙදෙනා ලෙස සාරිපුත්ත සහ මහමොග්ගල්ලාන පත් කරනු ලබයි. මෙම පත්වීම් භික්ෂූන් අතර අප්‍රසාදයකට තුඩුදුන් අතර, එම තනතුරු දෙකට වඩාත්ම ජෙෂ්ඨ රහතුන් වූ පස්වග මහණුන්ට හෝ ඊළඟට සුදුසු වූ කස්සප සහෝරවරුන්ට දිය යුතු බවට මතයක් ඇතිවිය. බුදුන්වහන්සේ මෙම ගැටළුව නිරාකරණය කළේ මීට පෙර ඔවුන්ගේ අතීත උපත් පිළිබඳ කතාවක් ගෙනහැරපෑමෙනි. බුදුන් වහන්සේ පැවසුවේ, අතීත බුදුවරයෙකුගේ කාලයකදී, බ්‍රාහ්මණ කුලයේ උපත ලැබූ සාරදා සහ සිරිවඩක යන නම් දැරූ මෙම මිතුරන් දෙදෙනාම, ගෞතම බුදුන්වහන්සේගේ "අග්‍රශ්‍රාවකයන්" වීමේ අභිලාෂය තිබුණ බවත් ඔවුන් එම තනතුරු දැරීමට සුදුසු වූයේ එම අභිලාෂය මත බවත්ය. එසේම, අතීත

බුදුන්වහන්සේලාගේ සමය තුළ කොණ්ඩඤ්ඤගේ අභිලාශය වී ඇත්තේ, ගෞතම බුදුන්වහන්සේ යටතේ පළමු "රහත්වහන්සේ" බවට පත්වීමටයි. එබැවින් ඔහුද තමාගේ අභිලාශය සාක්ෂාත් කර ගත් බවත් පැහැදිලි කළේය. මේ දර්ශනය බුදුන්වහන්සේ ලෝකයාට ධර්මය දේශනා කරනවාද යන්න ගැන නිගමනය කරන අවස්ථාවේදී තිබුණේද යන්න ප්‍රශ්නාත්මකය.

නැවත ඉපදීමේ සංකල්පය මෙසේ භාවිතා කිරීමෙන් භික්ෂු ප්‍රභවයෙන් මතු වූ පළමු කළමනාකරණ ගැටළුව බුදුන්වහන්සේට සාර්ථකව විසඳා ගැනීමට හැකිවිය. කෙසේ වෙතත්, අතීත බුදුවරුන් සහ නැවත ඉපදීමේ සංකල්පය පිළිබඳව අප දැනටමත් සාකච්චා කර ඇති හේතු සලකා මෙම සිද්ධියද විවෘත චින්තනයකින් නිගමනයකට පැමිණීමට ඔබට හැකි වනවා ඇත.

මෙයට අමතරව බුදුන්වහන්සේ කර්ම සහ නැවත ඉපදීමේ සංකල්ප උපයෝගීකරගත් අවස්ථා බොහෝය. කොසොල් රජු දුටු සිහින පැහැදිලි කිරීමටද එහි එක් අවස්ථාවකි. එහිදී බුදුන් දුන් පිලිතුර රජතුමාගේ මලගිය ඥාතීන්ගේ පැවැත්මෙහි ඇති සත්‍යාන්විත බාවය ගැන විවාද කරනවාට වඩා එම පිලිතුර කොසොල් රජුට හුදෙක් මනෝචිකිත්සාත්මක පිලියමක් ලෙස උපකාරී වූ ලෙස සැලකිය යුතුයි. අංගුලිමාල කල මනුෂ්‍ය ඝාතනයන්, මහාමොග්ගාලන රහතන් ඝාතනය සහ ශාක්‍ය වංශිකයන්ගේ සමූහ ඝාතනය යනාදී නොයෙකුත් සිද්ධීන්ට හේතුකාරක ලෙස කර්ම සංකල්පය භාවිතා කිරීම අතිශයිනම තර්කික නොවන බව එවැනි අවස්තා ඇතිවීමට තුඩුදුන් සාවද්‍ය කරුණු අවබෝධයෙන් පැහිදිලිව පෙනෙනවා ඇත.

*"පුද්ගලික ජීවිතය එහි සියලු ගැටුම් හා ගැටලු සමඟ අවසන් වීම හොඳ දෙයකි. පුද්ගලයකු මරණයෙන් පසු දිගටම ජීවත් වේ යැයි විශ්වාස කළ අය ඇත්තෙන්ම කණගාටුවට කරුනකි." - ඇල්බට් අයින්ස්ටයින්*

ප්‍රශ්නය: ඔබ ධර්ම සාරය ලෙස හඳුන්වන චතුරාර්යසත්‍යය, ආර්ය‍්‍යඅෂ්ඨාංගික මාර්ගය සහ අනත්ත සංකල්පය අවබෝධ කර ගැනීම දුක නැතිකර ගැනීමට ඉවහල් වන්නේ කෙසේදැයි පැහැදිලි කළ හැකිද?

පිළිතුර: අවුරුදු හතක පමන කාලයක් තිස්සේ සිද්ධාර්ථ තවුසා කල මානසික ගවේෂණයෙහි මූලික අවධානය වූයේ දුක නැති කිරීම සඳහා පිලියමක් සොයා ගැනීමය. අපි දුක පිළිබඳවත්, බුදුන්වහන්සේගේ සොයාගත් පිලියම දෙසත් විවෘත මනසකින් විමර්ශනය කරමු.

නිසැකවම මහලු බවට පත්වීම, දිරාපත්වීම, අසනීප වීම, මරණය වැනි ශාරීරික දුක් වේදනා අනිවාර්යයෙන්ම ස්වාභාවික සංසිද්ධීන් වන අතර සෑම ජීවත වලටම පොදුවේ විදින්නට සිදු වන ස්වාභාවික ජීවිත ලක්ෂණයන්ය. බුදුන්වහන්සේට පවා ශාරීරික දුක් වේදනා විදීමට සිදුවීම සහ අවසානයේදී මරණයට පත්වීම වැනි ජීවිත ස්වභාවයන් වැලැක්වීමට නොහැක විය. රහතුන් ඇතුලු සියලුම ශාවකයන්ටද මෙම ලෝක ස්වභාවයන්ගෙන් ගැලවීමට ක්‍රමවේදයක් නොතිබිණි. මේ කරුණු අනුව **බුද්ධත්වයට පත්වීම සහ ශාරීරික දුක් වේදනා සමනය කිරීම** අතර විශේෂ සම්බන්ධතාවයක් **නොමැති බව** අපගේ සාමාන්‍ය බුද්ධියට පවා තේරුම් ගත හැක. එසේ නම් බුද්ධත්වයෙන් ලැබෙන සැපය හෝ දුක නැතිවීම කුමක්ද? මගේ උපකල්පනය වන්නේ, බුද්ධත්වය සහ නිවන් සැප යනු අපව **"මානසිකව ඇති කරන දුක්"** මුලිනුපුටා කරගැනීමට හැකි ඥානයක් අත්පත් කර ගැනිම හා **එම ඥානය** ජීවිතයට අනුයුක්ත කිරීමෙන් ලැබෙන අධිවිතීය සුවය පරිබව කිරීම, යන්නය. අප දන්නා සියලු දුක් වේදනා අධ්‍යයනය කළහොත්, අපගේ සියලු දුක් වේදනා වලින් ඉතාමත්ම වැඩි (උදාහරණයක් ලෙස 95% කට වැඩි) කොටසක් වන්නේ ශාරීරික දුක් වලට වඩා **මානසික දුක්** බව පැහැදිලිය. මෙම සන්දර්භය තුළ, මානසික අසහනය, ආතතිය, භීතිය, චකිතය, කාංසාව, ක්‍රොධය,

කනගාටුව යන නොයෙකුත් වචන මගින් මානසික දුක් පරාස ගැන වැඩි හැඟීමක් පෙන්වා දෙයි. “1.සරලව කිවහොත් ලෝකයේ ආතතියන් නොමැත. ආතති සහගත සිතුවිලි තමන් විසින් සිතෙහි ඇතිකර ගනී. කිසිවෙකුට ඔවුන්ගේ ආතතියන් තවකෙකුට දිය නොහැක. 2.ඔබේ කෝපයට ඔබට දඬුවම් කල නොහැක. ඔබේ කෝපය නිසා ඔබට දඬුවම් ලැබෙනු ඇත." මේ වැනි අනර්ග කියමන් අපි ඉගෙන ගෙන ඇති නමුත් සමහර විට අපට ඇතිවන කනස්සනාත්මක සිතුවිලි, අපේ හිසටත් වඩා බරින් වැඩිය යන හැඟීම් තිබුණ අවස්ථා අප සැවොම අත්විඳ ඇත. සතුට හා අසතුට යනු අප විසින්ම නිර්මාණය කරනු ලබන සිතුවිලි වලින් ලැබෙන හැඟීම්ය.

බෞද්ධ ඉගැන්වීම්වලට අනුව, අයීඅෂ්ඨාන්ගික මාර්ගය දුක නැතිකිරීමේ මාර්ගයයි. මෙම මාර්ය අපගේ **මානසික ප්‍රවාහයේ ඇතිවන** ඕනෑම දුක් නංවන සිතුවිලි මගහරවා ගැනීමේ ක්‍රමවේදයයි. ඒ නිසා බෞද්ධ ධර්මයට අනුව දුක නැතිකිරීම සඳහා අප කල යුතු මූලික කාර්යය විය යුත්තේ වෙන කිසිවක් නොව, අයීඅෂ්ඨාන්ගික මාර්ගය වර්ධනය කිරීම සහ එම මාර්ගය අනුගමනය කිරීමයි!

ප්‍රශ්නය: අයීඅෂ්ඨාන්ගික මාර්ගය වර්ධනය කිරීම හා එය අනුගමනය කළ යුත්තේ කෙසේද?
පිළිතුර: මේ සඳහා අන්ධ ලෙස අයීඅෂ්ඨාන්ගික මාර්ග අංග පුහුණු කිරීමට උත්සාහ කිරීමට ප්‍රථමව, දුක්ඛිත සිතුවිලි නැතිකිරීමට එම මාර්ග අංග උපකාරී වන්නේ කෙසේද යන්න ගැන යම් වැටහීමක් ලබා ගැනීම යොග්‍යයි.

ප්‍රශ්නය: “අන්ධ ලෙස පුහුණු කිරීම” යනුවෙන් ඔබ අදහස් කලේ කුමක්ද?
පිළිතුර: මම අදහස් කළේ, කාලාම සූත්‍රයේ උපදෙස් දී ඇති පරිදි ඒ ගැන කිසි වැටහීමක් නොමැතිව ඒ ගැන නොසිතා බුදුන්වහන්සේ කියා තිබෙන නිසා අවේගශීලීව අයීඅෂ්ඨාන්ගික මාර්ගයේ පුහුණු වන්නට එල්බ වීම ගැනයි. එම

අංග ගැන යම්කිසි පූර්ව වැටහීමක් ඇති කර ගැනීමෙන් පසුව, එය වර්ධනය කිරීම සහ ප්‍රායෝගිකරනය කිරීම වඩා යෝග්‍යය ක්‍රමයයි.

උදාහරණයක් ලෙස **'සම්මා වාචා'** හෙවත් යහපත් ලෙස කථා කිරීමට පුහුණු වීම ගැන සිතා බලන්න. දේශපාලන ලෝකයේ හෝ අපගේ ජීවිතයේ බොහෝ අසහනකාරී අවස්ථා සහ ආතිත සහගත පසුබිම් වලට තුඩුදෙන ප්‍රධාන හේතුවක් වී ඇත්තේ වැරදිලෙස සන්නිවේදනය කිරීම හෝ යහපත් ලෙස අන් අය සමඟ සංවාද කිරීමට අපි අපොහොසත් වීමයි. මෙයින් පෙනීයන්නේ ඉතාම සරල කාර්යක් ලෙස අප සලකන යහපත් ලෙස කථා කිරීම අපේ තුල හටගන්නා දුක් නැතිකිරීමට රිජුවම සම්බන්ධ වී ඇති බවයි. එය සරල කාර්යයක් ලෙස පෙනුනද එසේ කිරීම එතරම් පහසු නොවන නිසා එය අයීඅෂ්ඨාන්ගික මාර්ගයේ අංගයක් ලෙස දක්වා ඇත්තේ මන්ද බවත් එය පුහුණු කරගත යුතු අංගයක් ලෙස අවශ්‍ය වන්නේ ඇයිද බවත් අවබෝධ කරගත යුතුයි. අප මධ්‍යස්ථව සිතුවහොත් යහපත් ලෙස කථාකිරීම, සතුටුදායක හෝ ප්‍රීතිමත් අවස්ථාවන්ට මුල පුරන ක්‍රියාවක් බව විවාදයකින් තොරව එකග විය හැකිය.

ප්‍රශ්නය: නිවැරදි කථාව පුහුණු කිරීම අපහසු ඇයි?

පිළිතුර: යහපත් කථාව පුහුණු කිරීමේදී ඇතිවන එක පසුබෑමක් වන්නේ අපේ මානසිකත්වයේ ගැලී තිබෙන මම යන කේන්ද්‍රීය ස්වභාවයේ බලපෑමයි. දෙවන දුෂ්කරතාව වන්නේ අපෙන් වචන පිටතට ගලායාම සිදුවන්නේ කල්පනාකාරීව හිතාමතා කරන ආකාරයකට වඩා, අප කුඩා කාලයේ සිට පුරුදු වී තිබෙන ප්‍රතික්‍රියාශීලී ආකාරයයි. “කට ක්‍රියාත්මක වීමට පෙර ඔබේ මොළය සම්බන්ධ කරගන්න!” සහ "අප කථා කිරීම කල යුත්තේ නිශ්ශබ්දව සිටිනවාට වඩා හොද ඵලයක් ගෙන දෙනවානම් පමනකි!" යන සුප්‍රසිද්ධ උපහරනයන්ගෙන් කියා සිටින්නේ අපි පිටකරන වචන කල්පනාකාරීව සැකසීමේ වැදගත්කම ගැනය.

ප්‍රශ්නය: නිවැරදි කථාව වර්ධනයට අවශ්‍ය වන්නේ කුමක්ද?

පිළිතුර: මේ සඳහා කරුණු දෙකක් අවශ්‍යයි. එකක් නම් අපේ කථා අරුතයේ ගුණාත්මකභාවය වැඩි දියුණු කිරීමයි. අනෙක නම් කථා කිරීම හිතාමතා කල්පනාකාරීව සිදු කරනවාද යන්න සහතික කිරීමයි. **නිවැරදි සිහිය** සහ **නිවැරදි සමාධිය,** අපගේ නිවැරදි කථනය සපුරාලීම සඳහා අවශ්‍ය වන අංග දෙකයි.

ප්‍රශ්නය: මෙම අංග දෙක, ආර්යඅෂ්ටාංගික මාර්ගයේ ඇතුළත් නොවේද?

පිළිතුර: ආර්යඅෂ්ටාංගික මාර්ගයේ තිබෙන සියලුම අංග එකිනෙකට සම්බන්ධ වී ඇති අතර ඒවා සියල්ලම බුද්ධත්වයට ගෙනයන මාර්ගයේ අනිවාර්ය කොටස් වේ.

ප්‍රශ්නය: **සම්මා වාචා** හෙවත් නිවැරදි කථනය ක්‍රියාත්මක කිරීම සඳහා **නිවැරදි මනස හා නිවැරදි සමාධිය** අවශ්‍ය වන්නේ ඇයි?

පිළිතුර: මෙම ප්‍රශ්නයට පිළිතුර නිසි ලෙස දැන ගැනීමට නම්, අපි ලොවට බිහිවූ දින සිට අපි "සිතීම" ඉගෙන ගන්නේ කෙසේද යන්න තේරුම් ගත යුතුය. උපදින විට ළදරුවෙකුට තිබින්නේ ඉතාම සරල නොදියුණු සිතීම් මට්ටමක්ය. ළදරුවකු වර්ධනය වන විට සිතීමේ මට්ටමද ක්‍රමයෙන් පුළුල් වේ. මේ ගැන යම් අවබෝධයක් ලබා ගැනිම, බෞද්ධ ධර්මයේ ඉගැන්වීම් තෙරුම් ගැනීමට උපකාරී වනවා ඇත.

ප්‍රශ්නය: ළදරුවෙකුගේ සිතීම වර්ධනය වන හැටි ඔබට කෙටියෙන් විස්තර කළ හැකිද?

පිළිතුර: ඔබ ළදරුවෙකු ඉතා සමීපව නිරීක්ෂණය කළහොත්, ළදරුවාගේ සහජ හැකියාවන් පිළිබඳව හොඳ අවබෝධයක් ලබා ගත හැකි වෙයි. ඉපදීමෙන් පසු ළදරුවෙකු තම මවගෙන් කිරි බීම, අන් අයගේ අවධානය ලබා ගැනීම සඳහා ඇඬීම වැනි දේ උපතින්ම දනී. මේ දෑ ඔවුන්ගේ මොලයේ ඇති

මූලික ජීවිත මෙහෙයුම් පද්ධතිය වල අන්තර් වී ඇත. මෙසේ උරුම වී ඇති සංකීර්ණ ක්‍රියාකාරයන්ට අනුව ඔවුන් මුනින් පෙරලීම, බඩගැම, සිටගැනීම, ඇවිදීම, අවට සිටින අයව හඳුනා ගැනීම වැනි කුසලතා ක්‍රමක්‍රමයෙන් ඉගෙන ගනී. කිසිදු කෙනෙකුගේ ආධාරයක් නොමැතිව ඔවුන් මේ සියලු කුසලතා තනිවම ඉගෙන ගන්නා අතර මෙම දක්ෂතා මොලයේ ක්‍රියාකාරී සෛල පද්ධති ලෙස ස්ථාපිත වේ. මෙසේ වන්නේ මතු භාවිතය උදෙසාය. මෙම පද්ධති දිනෙන් දිනම දියුනු වේ. එම ශාරිරික ක්‍රියාවලට සම්බන්ධ මොලයේ සෛල පද්ධති උපරිම තත්වයට පත්වුනාට පසු එම කාර්ය කිරීම සඳහා සිතීමේ අවශ්‍යතාව භාවිතා වන්නේ ඉතා අල්ප වශයෙනි. උදාහරනයක් ලෙස අපේ ඇවිදීමේ හැකියාව සැලකිය හැකිය. තවත් උදාහරනයක් වශයෙන් වාහනයක් පැදවීමේ හැකියාවද සැලකිය හැක්කේ එම ක්‍රියාවද සිදුවන්නේ හුදෙක් ස්වයංක්‍රීයබාවයක් පෙන්නුම් කරන නිසාය.

දරුවෙකුගේ වර්ධනය, පහත සඳහන් ප්‍රධාන අංශ දෙකකට බෙදිය හැකිය;

1. ශාරීරික ක්‍රියා වර්ධනය,
2. මානසික සංවර්ධනය.

ශරීරයේ සහ මානසික ක්‍රියාකාරිත්වයේ පාලන මධ්‍යස්ථානය ලෙස මොළය ක්‍රියා කරන නිසා මෙම වර්ධන අංශ දෙක අංයොන්යව දැඩිව බැඳී ඇත. ළදරුවෙකුගේ ශාරීරික වර්ධනය අපට පහසුවෙන් දැකිය හැකිය. මානසික වර්ධනයේ ලක්ෂණ හැටියට තමා අවට ඇති දේ ගැන අවබෝධය, සතුට, කෝපය, කරුණාව, දුක්වීම, සමහර අයට මනාප දැක්වීම, සංගීතයට ආශා කිරීම, විවිධ දේට ආකර්ශනය වීම වැනි දෑ හැඳින්විය හැකිය. මම යන කේන්ද්‍රීය හැඟීම ක්‍රමයෙන් වැඩිවීම මානසික වර්ධනයේ සුවිශේෂ ලක්ශනයකි. ළදරුවෙකු කථාකිරීමට ඉගෙන ගත් පසු මම කේන්ද්‍රීය වන ජීවන ලක්ෂණය විශාල පිම්මකින් ඉදිරියට යයි. මෙසේ වන්නේ භාෂාව අන් අය සමඟ සන්නිවේදන කිරීමේ ක්‍රියාවලිය ආරම්භ කරන නිසායි. මේ

අවස්ථාවේ දී පංච ඉන්ද්‍රීය හරහා ලැබෙන තොරතුරු වලට අමතරව භාෂාව තවත් තොරතුරු සපයන යෙදවුමක් බවට පත්වේ. භාෂාව පදනම් කරගත් තොරතුරු ප්‍රාථමිකව ‘‘අන් අයගේ අදහස්ය.’’ මේම අදහස් ළදරුවාගේ මනස දැඩි ලෙස පෝෂණය කරයි. උදාහරන වශයෙන් "පුටුව, අම්මා, 1 + 1 = 2 , ගෝනිබිල්ලා, අපාය, නැවත ඉපදීම" යන නම් සහ අදහස් අන් අය විසින් කියා දෙන දෑය. මේවැනි තොරතුරු ‘‘මානසික අදහස් හෝ මානසික බීජ’’ ලෙස හැඳින්විය හැකිය. දරුවන්ගේ මොළයක සියලු වර්ගවල මානසික දෑ ගබඩා කිරීමට භාෂාව මුලින්ම භාවිතා කරන්නේ ඔවුන්ගේ දෙමාපියන්ය. පංච ඉන්ද්‍රීය වලට අමතරව අපට ලැබෙන අනිත් තොරතුරු යෙදවුම මෙය ලෙස ලොවට පෙන්වා දුන් **ප්‍රථම පුද්ගලයා** වන්නේ බුදුන්වහන්සේය. මෙය අපේ මනසට ඇතුලු වන වෙනම යෙදවුමක් ලෙස හඳුනා ගැනීම, ඉතා වැදගත් සහ සුවිශේෂී කරුණකි. උපතේ සිටම අපගේ මනෝභාවය වර්ධනය වන්නේ කෙසේද යන්න තේරුම් ගැනීමට උපකාරී වූ මෙම යෙදවුමේ හඳුනා ගැනිම බුදුන් ලොවට දුන් අනගි දායාදයකි.

ප්‍රශ්නය: මෙම 6 වන යෙදවුම් එතරම් වැදගත් වන්නේ මන්දැයි ඔබට පැහැදිලි කළ හැකිද?
පිළිතුර: මෙම යෙදවුම් රූප, ශබ්ද, ගන්ධ, රස. ස්පර්ශ සහ මනස් යන සංවේදිකයන්ගේ 'මනස්' සංවේදිකය ලෙස ධර්මයේ සඳහන් වන නමුත් බොහෝ භික්ෂූන් මෙම යෙදවුම කරුණු සහගතව පැහැදිලි කිරීමටක් අපොහොසත් වීම කණගාටුවට කරුණකි.

සරලව කිවහොත්, පංචෙන්ද්‍රිය වලින් ලැබෙන සංඥාවන් වලට ආවේණිකව අපට පෙනීම, ශබ්දය, ගන්ධය, රසය සහ ස්පර්ශ වැනි දේ මොලයේ සෛල පද්ධති මගින් බිහි කරනවාට සමානව, අන් අයගෙන් ලැබෙන තොරතුරුද මොලයේ සෛල පද්ධති මගින් අපට මානසික සතුට, මානසික වේදනාව, මධ්‍යස්ථ හැඟීම්, මානසික ව්‍යාකූලතා, විවිධ අදහස් සහ සිතුවිලි බිහි කිරීමට

මූලික වේ. උදාහරනයක් වශයෙන් අපගේ මිතුරෙකුගේ මරණය පිළිබඳ ලැබෙන පුවතක් අපට දුක් සිතුවිලි ඇතිකරන්නේ එබැවිනි. තවත් උදාහරනයක් වශයෙන්, 6 වන යෙදවුම් මාර්ගයෙන් අපේ මොලයේ අන්තර්ගත කර ඇති පයිතගරස් ප්‍රමේය පිළිබඳ දැනුම සමහර ගණිත ගැටලු විසඳීමට අපට උපකාරී වෙන්නේ එම දැනුම්, මොලයේ ඒ සම්බන්ධව ඇතිකර ඇති **චින්තන සෛල පද්ධති** උපයෝගීකර ගැනීමෙනි. අප මොලයේ ඇති මතක අංශය අපේ ජීවිතයට අවශ්‍ය බොහෝ දෑ ගබඩා කර ගනී. ප්‍රධාන වශයෙන් මේ දෑ අතීත දත්ත, ශාරිරික ක්‍රියා පද්ධති සහ විවිධ සිතීමේ පද්ධති (programs) වේ. සිතීම සඳහා අපි දියුනු කර ඇති සෛල පද්ධති, මතක අංශයට යාබැදිව සමීප සම්බන්ධීකරනයක් පවත්වයි. එසේ කරනුයේ සෑම සිතුවිල්ලකටම මතකයේ සබැදියාව අවශ්‍ය නිසාය. මෙම සබැදියාව නොමැතිනම් අපට ඇවිදීම වැනි ක්‍රීයාවක් වත් කිරීමට නොහැකි වනු ඇත. චින්තන ක්‍රියාවලියට 6 වන යෙදවුම් ලැබෙන්නේ භාහිරව මෙන්ම, අපේ මතක අංශයෙන්ද සිදුවේ.

**සිතීම් බිහි කරන පොදු මාර්ග ක්‍රම**

ප්‍රශ්නය: සිතීමත් ළදරු වයසේ සිට ඉගෙන ගැනීමක් ලෙස පැහැදිලිය. සිතීම ගැන නවීන විද්‍යාවෙන් දැන ගත හැක්කේ කුමක්ද?
පිලිතුර: නිසැකවම අපට දැන ගත හැකි දේ එමටයි. සිත හැසිරෙන සරල ක්‍රමයක් ගැන මම ඇලුම්කල ග්‍රන්ථයක් අනුසාරයෙන් විද්‍යාඥයකුගේ අදහසක් අපේ සාකච්චාවට උපකාරීවෙන නිසා මා ඒ ගැන ලිහිල් විස්තරයක් කරන්නම්.

නොබෙල් ත්‍යාගලාභී විශේෂඥයෙක් වූ **ආචාර්ය ඩැනියෙල් කාන්මන්,** චින්තන යාන්ත්‍රණය පිළිබඳව පලකර ඇති සරල මතය අපට සිතීම ගැන වැඩි අවබොධයක් ලබාදෙයි. ඔහු සිතුවිලි ක්‍රියාවලියන්, පද්ධති 1 සහ පද්ධති 2

ලෙස පද්ධති දෙකකට වර්ග කරයි. පහසුවෙන් තේරුම් ගැනීම සඳහා පද්ධතිය 1 යනු ‘‘ශනික සිතීම’’ ලෙසත්, පද්ධතිය 2 යනු ‘‘හිතාමතා සිතීම්’’ ලෙසත් නම් වෙයි. "ශනික සිතීම" යනු අපට සුපුරුදු ස්වයංක්‍රීයමය ලෙස, ප්‍රතික්‍රියාශ්‍රීලී ශනික ආකාරයකට සිදුවන සිතීමේ ක්‍රියාවලියයි. උදාහරන වශයෙන් 2 + 2 = ?; ‘‘ඔබේ නම කුමක්ද?’’ යන ප්‍රශ්නයන්ට ශනික පිළිතුරු සැපයීම, හදිසි ශබ්දයක් ආ දිශාව දෙස හිස යොමුවීම, වෙනත් පුද්ගලයෙකුගේ මුහුණේ ඇති ඉරියව් ශනිකව තේරුම් ගැනීම, යන දෑ "ශනික සිතීම" නොහොත් පද්ධති 1ට අයත් වේ. මෙලෙසම, ඔබ දන්නා අය හඳුනා ගැනීම, ඇවිදීම, කථා කිරීම වැනි ක්‍රියාවන්ද ඉබේම වාගේ අප සිත තුළින් සිදුවන හෙයින් ‘‘ශනික සිතීම’’ ගණයට අයත් වේ.

සිතීමේ ක්‍රියාවලියේදී යම්දෙයක් ගැන අපි හිතාමතාම උත්සාහයක් ගන්නේ නම් එය ‘‘හිතාමතා සිතීම්’’ නොහොත් පද්ධති 2ට අයත් ක්‍රියාවලියක් වේ. උදාහරණ වශයෙන් 57 x 93 විසඳුම, රත්නපුර නගරයට දකුණින් පිහිටි ආසන්නතම නගරය කුමක්ද දැයි අනුමාන කිරීම, ප්‍රශ්න පත්‍රයකට පිළිතුරු ලිවීම යනාදිය, ‘‘හිතාමතා සිතීම්’’ පද්ධතිය යටතේ සෑදෙන සිතීම් වලට අයත් වේ. අපි දෛනික ජීවිතයේදී, පොදුවේ, බොහෝ සිතීම් සිදුවන්නේ මොලයේ "ශනික සිතීම" පද්ධතිය යටතේය. නමුත් ශනික සිතුවිල්ලක් උත්පාදනය කිරීමේ දී යම්කිසි වකිතයක් හෝ අපැහැදිලි ස්වභාවයක් හෝ බාධකයක් ඇති වූවහොත්, ඉන් ඔබ්බට සිතීම සඳහා "හිතාමතා සිතීම්" පද්ධති මාර්ගයට යොමු කරුණු ලබයි. අපි උද්‍යානයක සැහැල්ලු මනසකින් ඇවිදිනවිට "අන්තරාවයි" කියා මාර්ගය හරහා සංඥවක් හමුවුවහොත් එම මොහොතේදී අපේ චින්තනය "හිතාමතා සිතීම්’’ පද්ධතියට යොමු වෙයි.

ප්‍රශ්නය: සම්මා වාචා හෙවත් නිවැරදි කථනය පිළිබඳ මගේ ප්‍රශ්නය සහ ඉහත පැහැදිලි කිරීම අතර ඇති සම්බන්ධය කුමක්ද?

පිළිතුර: එහි සම්බන්ධතාවය නම්, අපි යම් අයකු හා කථා කරන විට එය සාමාන්‍යයෙන් සිදුවන්නේ සුපුරුදු ''ශනික සිතීම'' පද්ධතිය ඔස්සේය. නමුත් සම්මා වාචා හෙවත් යහපත් කථනය සිදුවිය යුත්තේ මොලයේ ''හිතාමතා සිතීම්'' පද්ධතිය ඔස්සේය.

ප්‍රශ්නය: සිතීම පිලිබඳ ආචාර්ය ඩැනියෙල් කාන්මන්ගේ සංකල්පය, බෞද්ධ ඉගැන්වීම් තේරුම් ගැනීමට යොදා ගැනීම සුදුසුද?
පිළිතුර: බෞද්ධ ධර්මය නවීන විද්‍යාවට සැබවින්ම සමීප නිසා බෞද්ධ ඉගැන්වීම් වඩා හොඳින් තේරුම් ගැනීම සඳහා මොළය හා චින්තනය පිළිබඳ ඇති නවතම විද්‍යාත්මක දැනුම භාවිතා කිරීමේ වරදක් නැත.

ප්‍රශ්නය: ආචාර්ය කාන්මන් ගැන ඔබ සඳහන් කළ පැහැදිලි කිරීමට සමාන්තරව, බෞද්ධ ධර්මයේ සඳහන් වන්නේ කුමක්ද?
පිලිතුර: ආචාර්ය කාන්මන් පැහැදිලි කර ඇත්තේ සිතුවිලි ඇතිවන ක්‍රමයේ ව්‍යුහ පද්ධති දෙකක් ගැනයි. මෙම පද්ධති දෙකෙන් බුදුන්වහන්සේ අපගේ චින්තනය පරිපුන් කිරීමේ ක්‍රමවේදය හැටියට ''හිතාමතා සිතීම්'' පද්ධතිය භාවිතා කිරීමට ඉවහල්වන "සිහිය - mindfulness'' වර්ධනය කිරීමේ අවශ්‍යතාවය නිර්දේශ කරයි. සම්මා වාචා අංගයට පමණක් නොව අයීඅෂ්ඨාන්ගික මාර්ගයේ ඇති සියලුම අංග මේ ආකාරයෙන් සිතා මතා වර්ධනය කිරීම බුද්ධ ධර්මයේ මඟ පෙන්වීමයි.

ප්‍රශ්නය: ඔබ දුන් එම පිළිතුරට වැඩි පැහැදිලි කිරීමක් කළ හැකිද?
පිළිතුර: අප තේරුම් ගත යුතු දෙය නම්, අප එදිනෙදා කරන කටයුතුවලදී අපේ මනස ස්වාභාවිකව භාවිතා කිරීමට පුරුදු වී ඇත්තේ ''ශනික සිතීම'' පද්ධතිය මතය. බුදුන්වහන්සේගේ උපදෙස වූයේ ''හිතාමතා සිතීම්'' පද්ධතිය දියුණු කිරීමටය. උදාහරණයක් වශයෙන් ගුණාත්මකයැයි මිනිසුන් පිලිගන්නා

බොහෝ නායකයන් තුළ මෙම ලක්ෂණ ඇති බව ඔබ දැක ඇතැයි මා සිතමි. මෙම ගුණාංග නිරූපණය කරන නායකයන් ලෙස දලයි ලාමා සහ නෙල්සන් මැන්ඩෙලා කදිම නිදසුන් වේ. ඔවුන්ගෙන් ප්‍රශ්න ඇසූ විට, ඔවුන්ගේ සිතුවිලි හිතාමතාම සිදුකර පිළිතුරු සැපයීම විශේෂයි. ඔවුන් පවසන වචන හා දැ සදාචාරාත්මක, ඵලදායී, බුද්ධිමත් හා ලෝකයට ප්‍රයෝජනවත් වීම සහතික කිරීම සඳහා ඔවුන් ‘‘හිතාමතා සිතීම්’’ පද්ධතිය භාවිතා කරයි. මෙම ගුණාංග ස්වාභාවිකවම උපතින් හෝ සමහර විට පුහුණුව මගින් ඔවුන් ලබාගත්තා විය හැකියි.

ප්‍රශ්නය: ඔව්, මට එවැනි ලක්ෂණ තිබෙන අය හමු වී තිබෙනවා. සුපුරුදු "ශනික සිතීම" බැහැර කොට "සිතාමතා සිතීමට" මිඬංගුවීමට ඇති දුෂ්කරතාවය කුමක්ද?
පිළිතුර: දුෂ්කරතාවය නම් අපි මුලදී සාකච්ඡා කළ පරිදි කුඩා කල සිට අප අපේ මනස වර්ධනය කර ඇති ආකාරයයි. අපි පුරුදුවී ඇත්තේ අලස හෝ සරල හෝ පහසු යැයි හැදින්විය හැකි ශනික සිතීම් ක්‍රමය භාවිතා කිරීමටයි. මෙම පුරුද්දෙන් මිදීමට බුදුන් වහන්සේ යෝජනා කළ විසඳුම වූයේ ‘‘සිහිය’’ නොහොත් "සතිය" (mindfulness) වර්ධනය කිරීමයි.

ප්‍රශ්නය: සිහිකල්පනාව නොහොත් "සතිය" විසඳුම වන්නේ කෙසේදැයි පැහැදිලි කරන්න?
පිළිතුර: අප සාකච්චා කල පරිදි 'සම්මා වාචා' වර්ධනයට අවශ්‍ය ප්‍රධාන අංශ දෙකක් තිබේ. එකක් නම් ගුණාත්මක අංගයයි. අනෙක් අංගය නම් එසේ වර්ධනය කරනු ලබන ගුනාත්මක ලක්ෂණ භාවිතයට යෙදවීමයි. ගුණාත්මක අංග කාලය සමඟ වැඩිදියුණු කිරීමට හැකිය. කෙසේ වෙතත්, අවශ්‍ය ගුනාංග උසස් ප්‍රමිතියකට වර්ධනය කිරීමෙන් පසුව පවා, කෙනෙකු එම ගුණාංගය භාවිතා නොකරන්නේ නම් එයින් ප්‍රයෝජනයක් නැත. මෙසේ වන්නේ එම පුද්ගලයා සුපුරුදු ‘‘ශනික සිතීම’’ ක්‍රමයට තවදුරටත් සිතීම් සිදුකලහොත්ය.

"සිහිය - සතිය - සිහිකල්පනාව" අවශ්‍ය වන්නේ මෙතැනදීය. මනසේ සතිය දියුණුකර ඇති විට මනසට ඇතුලුවන වාචික හො අනිත් සංඥාවන් සිහියෙන් ග්‍රහණය කර "සිතාමතා සිතිම" පද්ධතිය මාර්ගයෙන් පිලිතුරු සම්පාදනය කර "නිවැරදි කථාව" ප්‍රතිදානය කිරීමට හැකියි.

ප්‍රශ්නය: එසේ නම් සිහිය වර්ධනය කිරීමේ බෞද්ධ ක්‍රමය කුමක්ද?
පිළිතුර: භාවනාව.

**භාවනා කිරීමේ අරමුණ**

ප්‍රශ්නය: භාවනාව මෙම කාර්යයට උපකාර වන්නේ කෙසේද?
පිළිතුර: භාවනා කිරීමේ අරමුණ, භාවනා පුහුණු වීමට පෙර තේරුම් ගැනීම වැදගත්ය. කෙනෙකු එහි ඇති ප්‍රායෝගික වැදගත්කම නොදැන වුවත් භාවනාව දිගටම පුහුණුවීමෙන් ඒ ගැන දක්ෂයෙකු වියහැක. නමුත් බුදුන්වහන්සේ අපේක්ෂා කළ අරමුණු සඳහා එම දැනුම භාවිතා නොකරන්නේ නම් එවැනි විශේෂඥ දැනුමකින් වුවද පලක් නැත.

මා විශ්වාස කරන්නේ බොහෝ දෙනා භාවනාවේ යෙදෙන්නේ බුදුන්වහන්සේ භාවනා කිරීමෙන් බුද්ධත්වය ලැබුවේය යන මතය නිසාය. අරමුණ එය නම්, එසේ කිරීම, බුද්ධත්වයට අවශ්‍ය මාර්ගය නැවත වරක් සොයා ගැනීමට කරන උත්සාහ කිරීමක් වැනි අනවශ්‍ය කාර්යක් සේ මට හැඟේ. බුදුන්වහන්සේ බුද්ධත්වයට පත්වීමේ මාර්ගය අපට කියා දී ඇති හෙයින් යමෙකු නිරත විය යුත්තේ ආර්‍යඅෂ්ඨාන්ගික මාර්ගයේ ගුණාංග වර්ධනය කිරීම සහ භාවනා කිරීමෙන් ලබන පුහුනුව ඒ සඳහා උපයෝගී වන්නේ කෙසේද යන්න පලමුව දැන ගැනීමෙන්ය.

ප්‍රශ්නය: එසේනම් භාවනා ක්‍රම මනස වර්ධනය කිරීමේ අරමුණට උපකාරී වන්නේ කෙසේදැයි ඔබට පැහැදිලි කිරීමට හැකිද?

පිළිතුර: බුදුන්වහන්සේ විසින් උගන්වනු ලබන මූලික භාවනා ක්‍රම දෙක හැඳින්වෙන්නේ **"සමථ"** (සන්සුන් ඒකස්ථ භාවය) සහ **"විපස්සනා"** (තීක්ෂ්ණ බුද්ධිය) භාවනා ලෙසය. භාවනාවේ එකම අරමුණ අපගේ චින්තන ක්‍රමය ගුනාත්මක කිරීමයි. අපට ඇති සියලුම චින්තන පද්ධති මූලික අදීර තුනකින් සමන්විත වේ. 1. යෙදවුම් (input) අවධිය, 2.යෙදවුම් සැකසුම් අවධිය (processing) සහ 3. සිතුවිලි සහ හැඟීම් ප්‍රතිදානය (output) අවධිය. අපට ලැබෙන යෙදවුම් හය සමග මෙම ක්‍රියාවලිය අනුක්‍රමිකව අපගේ මොළයේ සෑම විටම සිදුවේ. යෙදවුම් සැකසුම් අවධිය මතක අංශය සමඟ සබැඳිව ක්‍රියා කරයි. යෙදවුම් සැකසුම් වන්නේ අපි කුඩාකල සිට වර්ධනය කල සිතීමේ පද්ධතින් (programs) භාවිතයෙන්ය.

සමථ භාවනාවේ සාමාන්‍ය මඟ පෙන්වීම සිත එක අරමුනකට යොමු කිරීමෙන් සිතුම් පාලනය කිරීමට පුහුණු වීමයි. බාහිරව හෝ අභ්‍යන්තරව මොලයට ගලා එන නොයෙකුත් සංඥා සහ සංවේදනයන්ට ප්‍රතිචාර දැක්වීමේදී ඔබේ මනස දගකාර ලෙස හැසිරෙන බැවින් එක අරමුණක සිත යොමු කිරීම දුෂ්කර කාර්යයකි. කෙසේ වෙතත්, අපි සමථ භාවනාව දිගටම පුහුණු කරන්නේ නම්, එය ක්‍රමයෙන් සමාධිය පවත්වා ගැනීම වර්ධනය කරයි. එබැවින් මෙම පුහුණුව අපගේ චින්තන ක්‍රියාවලියේ ආරම්භයට මොලයට ඇතුල්වෙන සංඥා හිතාමතා ග්‍රහනය කර ගැනීමටත්, එම සංඥා වල සිතීමේ ක්‍රියාවලිය (processing) "හිතාමතා සිතිම්" පද්ධතිය වෙත යොමු කිරීමටත්, උපකාර කරයි. එම නිසා සමථ පුහුණුව, සිතුවිලි "ශනික සිතීම්" පද්ධතිය මගින් සංකලනය වීම මග හරවා, සිතුවිලි සම්පාදනය "හිතාමතා සිතිම්" පද්ධතියෙන් බිහිකරවීමට සලස්වන දොරටු පාලකයෙක් හැටියට සැලකිය හැකිය. සමථ භාවනා පුහුණුව කෙනෙකුට සන්සුන් භාවය උදා කරයි. සන්සුන් බවක් ඇති පුද්ගලයෙකු ඔහුට හෝ ඇයට යොමුවෙන සංඥාවන් පාලනය කර ගත හැකි

ආකාරයකට හැඩගැසෙනු ඇත. මෙය සිතිම පාලනය කිරීමේ සහ මානසික හික්මීමෙහි පලවෙනි පියවරයි.

ප්‍රශ්නය: ඔබේ පැහැදිලි කිරීම අර්ථවත්. එසේනම් විපස්සනා භාවනාවේන් පුහුණුවෙන්නේ කුමක්ද?
පිළිතුර: විපස්සනා භාවනා ක්‍රම විශ්ලේෂණය කිරීමෙන් අපට පෙනීයන්නේ එය සත්‍යවශයෙන්ම අයීඅෂ්ඨාංගික මාර්ගයේ සියලුම අංග සිතුවිලි සම්පාදනයේදී (processing) සබැඳි කිරීමට **උපකාරී** වන භාවනා ප්‍රවාහය බවය. විපස්සනා භාවනාව සිතුවිල්ලක ආරම්භය, සංකලනය සහ ප්‍රතිඵල සිතුවිල්ල උත්පාදනය සිතාමතා කිරීම පුහුණු කිරීමේ අභ්‍යාසයකි. විපස්සනා භාවනාවේ ප්‍රතිඵලය වනුයේ අපි නිර්මානය කරන සීතුවිලි ආරම්බයේ සිට අවසානය දක්වා කෙරෙන ක්‍රියාවලියේදී අප කළ යුතු දේ බුද්ධිමය සිහියකින් කිරීමයි. විපස්සනා භාවනාව ඇත්තවශයෙන්ම "සිතාමතා සිතීම්" පද්ධතිය වැඩිදියුණු කිරීමකී.

කෙසේ වෙතත්, සිතීම් ක්‍රියාවලියේ ශනික ස්වභාවය නිසා සමහර සිතුවිලි පුහුනුවන්නාගේ ග්‍රහණයට හසුනොවී සිතුවිලි "ශනික සිතීම්" පද්ධතිය මගින් උත්පාදනය වීම සුලබය. එවැනි අවස්ථාවලදී කල හැක්කේ එසේ උත්පාදනය වූ සිතුවිල්ල සංශොධනය කිරීම සදහා නැවත විමර්ශනයට භාජනය කර එම සිතුවිල්ල සංශොධනය කිරීමය. මෙහිදී සමථභාවනා පුහුණුව එසේ ගිලිහී ගිය සිතුවිලි ග්‍රහනය කිරීමට උපකාරී වේ. විපස්සනා භාවනා, අපි සිතුවිලි උත්පාදනයේදී අප තුළ අභ්‍යන්තර සංවාදයක් පැවැත්වීමක් හා සමානයි. මෙහිදී අයීඅංඨාන්ගික මාර්ගයේ ඇති අංග, සිතුවිලි උත්පාදන ක්‍රියාවලියට සම්බන්ධ කිරීමට හැකිවීම නිසා එහි ප්‍රතිඵලය වන්නේ සැමවිටම සූක සහගත සිතුවිලි මිස දුක් සහගත සිතුවිලි පහළ නොවීමයි.

ප්‍රශ්නය : බුදුන්වහන්සේ වෙනත් භාවනා ක්‍රම වදාළාද?
පිළිතුර: ''මෛත්‍රී'' භාවනාව සහ ''සතිපට්ඨාන'' භාවනාව වැනි තවත් භාවනා ක්‍රම ධර්මයේ අන්තර්ගතව ඇත. සාරාංශාත්මකව කරුණාව කේන්ද්‍ර කරගත් භාවනාව ''මෛත්‍රී'' භාවනාව ලෙස හැඳින්වේ. එය ආර්‍ය්‍යඅංඨාන්ගික මාවතේ සමහර සදාචාරාත්මක අංග වර්ධනයට උපකාරී වේ. ''සතිපට්ඨාන'' භාවනාව විපස්සනා භාවනා ගනයට අයත් වන අතර එහි පුහුණුව විශේෂයෙන් අවධානය යොමු කර ඇත්තේ සිහිය වර්ධනය කිරීමේ දී ශරීරය, හැඟීම්, මනස සහ ධර්මය මුල්කොට මේ පිළිවලින් භාවනා පුහුණුවට යොමු වීමය.

ප්‍රශ්නය: භාවනා පුහුණුවකින් තොරව පස්වග මහණුන් බුද්ධත්වයට පත්වූයේ කෙසේද?
පිළිතුර: ඔවුන් තපසුන් වශයෙන් හැඳින්වුන නිසා ඔවුන්ට භාවනා අත්දැකීම් සහ පුහුණුවන් ඉහල මට්ටමක තිබෙන්නට ඇතැයි අපට විශ්වාස කල හැකි අතර මේ හේතුවෙන් ඔවුන්ට මනස පාලනය කිරීමේ දක්ෂයන් විය යුතුය. ඔවුන් සුද්ධෝදන රජුන්ගේ අනුසාසක සේවයේ සිටිනිසා නුවණැති අය ලෙස සැලකිය යුතුය. මේ හේතූන්ට අනුව ධම්මචක්කප්පවත්තන සූත්‍රයෙන් සහ අනත්තලක්ඛන සූත්‍රයෙන් වදාළ ධර්මය තේරුම් ගැනීමේ ගැටළුන් ඔවුන්ට නොතිබෙන්නට ඇත.

ප්‍රශ්නය: බුද්ධත්වයට පත්වීමට හෝ රහත් භාවයට පත්වීමට භාවනාමය පුහුණුවක් අවශ්‍යද?
පිළිතුර: ත්‍රිපිටකට අනුව භාවනා පුහුණුවක් නොමැති පැවිදි හා ගිහියන් බුදුන්ගේ දේශනාවලට සවන් දීමෙන් බුද්ධත්වය ලබා ඇති බව වාර්තා වේ. උදාහරණ වශයෙන් එක බුද්ධ දේශනාවක් ශ්‍රවණය කිරීමෙන්, අංගුලිමාල - මිනීමරුවෙක්, උග්ගසේන - කරනම්ගසන්නෙක් සහ සුනීත - කසල සෝදකයෙක් රහත්භාවයට පත් වුයේ භාවනා පුහුණුවන් නොමැතිවය.

අපි හොඳින් අවබෝධ කරගත යුතු විශේෂ කරුණ නම්, දුක නැතිකිරීමට අවශ්‍ය බුද්ධිමය තත්වයට පත්වීමේ වේදිකාව වන්නේ භාවනාව නොව අෂ්ඨාංගික මාර්ගයයි. සම්මාවාචා වැනි යහපත් ආචාරධාර්ම වල වර්ධනයන්ගෙන් තොරව මානසික දුක් වේදනා හටගැනීම නැවැත්විය නොහැකිය. භාවනාව යනු අෂ්ඨාංගික මාර්ග අංගයන් වර්ධනය හා පුහුණුව සඳහා අවශ්‍යවන පුහුණු ක්‍රම පමණකි. භාවනාව සමහරුන්ට මහත් ලෙස උපකාරී වියහැක නමුත් අෂ්ඨාංගික මාර්ග අංග, චින්තන ක්‍රියාවලියට අනුයුක්ත කිරීම භාවනාවෙන් තොරව වුවද සිදුවිය හැකිය.

ප්‍රශ්නය: අෂ්ඨාංගික මාර්ගයේ සඳහන්වන නිවැරදි දැක්ම සහ නිවැරදි චේතනාවේ කාර්යභාරයන් මොනවාද?

පිළිතුර: බෞද්ධ ධර්මයේ ඉගැන්වීමට අනුව දුකට හේතුවන ප්‍රධාන සාධකය වන්නේ මානසික ඇලීම බවයි. මෙයින් මිදීය හැක්කේ බුද්ධිමය ඥානයකින් ඒ ගැන අවබෝධයක් ලබා ගැනීමෙනුයි. බුද්ධිඥාන වර්ධනය හෙවත් ප්‍රඥා ප්‍රවර්ධනයට අවශ්‍ය පියවර වන්නේ නිවැරදි දැක්ම සහ නිවැරදි චේතනාවයි. මෙම අංග දෙකම තාර්කික චින්තනයට මුලපුරන අතර යථාර්ථය සහ අනත්ත සංකල්පය අවබෝධ කිරීමට උපකාරී වේ. මෙම සාකච්ඡාවේ ආරම්භයේ දී, අප සිද්ධාර්ථ කුමරුගේ මානසික වර්ධනයට තුඩුදුන් සාධක සොයා බැලීමටත්, බුද්ධ ධර්මය තාර්කිකව තේරුම් ගැනීමටත් යොමු වීමත් නිවැරදි දැක්මක ආරම්භයක් යැයි අපට සිතිය හැකියි. නිවැරදි දැක්ම සහ නිවැරදි අභිප්‍රාය හෝ චේතනාව අපි දිගින් දිගටම පුළුල් ආකාරයකින් සිදු කරන්නේ නම්, ජීවිතයේ ලෞකික හා ලෞකික නොවන ක්ෂේත්‍ර පිළිබඳ ගැඹුරු ලෙස විමර්ශන කිරීමට හැකියාවක් ලැබෙනු ඇත.

ප්‍රශ්නය: ප්‍රඥාව ප්‍රවර්ධනය යනු කුමක්ද?

පිළිතුර: බුදුන් සමයේදී ප්‍රඥාව යනු කුමක්ද යන ප්‍රශ්නය විවිධ අවස්ථාවන්හිදී මතු වී ඇත. වරක්, මෙම ප්‍රශ්නය භික්ෂුවක් විසින් අරහත් සාරිපුත්තගෙන්

විමසන ලදි. ඔහු දුන් පිළිතුර **මහාවද්දල** සූත්‍රයෙන් හෙළිදරව් කරයි. එය ප්‍රශ්නෝත්තර ආකෘතියකින් ලබා දී ඇති සවිස්තරාත්මක හා දීර්ඝ පැහැදිලි කිරීමකි. මෙහි සාරාංශමය පිළිතුරක් හැටියට මූලික වශයෙන් අපට ඇතුල්වන සංඥාවන්ට සම්බන්ධ සිතුවිලි සම්පාදනයේදී සිතුවිලි සැකසීම විශ්ලේෂණය කිරීමේ හැකියාව ප්‍රඥා ප්‍රවර්ධනය හැටියට අරථ දක්වයි.

*අඥානයෙකු යනු සත්‍යය දැන සිටීම, සත්‍යය දැකීම, නමුත් තවමත් මිථ්‍යාව විශ්වාස කරන්නෙකුයි. - මහාචාර්ය රිචඩ් ෆයින්මන්*

ප්‍රශ්නය: ආර්‍ය්‍යඅශ්ඨාන්ගික මාර්ගය අනුගමනය කිරීම අපට විශාල වශයෙන් ඇතිවන දුක් හටගැනීම නැවතීමට උපකාරවන බව පැහැදිලියි. අනත්ත සංකල්පය මෙයට සම්බන්ධ වන්නේ කෙසේ?
පිළිතුර: පරමාර්ථ සත්‍යක් ලෙස මම යැයි කෙන්ද්‍රීය වන කිසිවෙකු යථාර්ථිකව උපකල්පනය කල නොහැක. නමුත් අප නොදැනුවත්වම කරන දෙයක් නම්, අපට ඇතිවන සියලුම දුක් හෝ සැප සිතුවිලි වහාම මම යන කේන්ද්‍රීය භාවයට සබඳතාවක් ඇති කිරීමට යොමුකිරීමයි. එම නිසා, අපට තිබෙන ඉතාමත්ම අපහසු කර්‍ය්‍ය වන්නේ අපගේ දෛනික ජීවිතයේදී මම යන මායාකාරි භාවයෙහි යථාර්ථය, අපේ චින්තන ක්‍රියාවලියට ඒකාබද්ධ කිරීමට ඇති නොහැකියාවයි. මෙයට විසඳුම වන්නේ ප්‍රඥා වර්ධනය පමනය.

අපි එදිනෙදා ජීවිත කාර්යයන් ගෙවීයාමේදී යාථාර්තික පසුබිම ගැන කිසිම තාත්වික අවබෝධයක් නොමැතිව, අපි අපම රවටනවාද යන සැකය ගැන උදාහරනයක් මගින් විමර්ශනය කර බලමු.

ඔබ චිත්‍රපටයක් නරඹමින් සිටිනවා යැයිද එම කථාවේ ගැඹුරින් ඉලබ වී ඇතැයිද සිතන්න. කාලය සමඟ චිත්‍රපටියේ සිදු වෙන සිදුවීම් නිසා ඔබ තුල සැබෑ හැඟීම්, කඳුළු වැගිරීම, ප්‍රීතිය වැනි චිත්තවේගයන් අත්විදීමට පටන් ගනී.

මෙහිදී මෙම චිත්‍රපටය ලියන ලද දක්ෂ කතුවරයා හෝ චිත්‍රපටයේ අධ්‍යක්ෂවරයා විසින් නිර්මාණය කරන ලද ව්‍යාජ චරිත නළු නිලියන් මගින් රඟපාන බව ඔබේ සිතට කොහෙත්ම නොදැනේ. පුදුමයට කරුණක් නම්, කාටූන් චිත්‍රපට නරඹන විට පවා මෙවැනි චිත්තවේගයන් අප තුල ඇතිවීමයි. ඔබ චිත්‍රපටය නැරඹීමට පෙර සිටම මෙම චරිත සියල්ලම ව්‍යාජ සාහිත්‍යමය දැය බව ඔබ හොඳින් දැන සිටියද, ඔබේ මනස එම කිසිවක් යථාර්ථවාදීව නොසලකා ඔබට චිත්තවේගීය හැඟීම් පහල කරයි. නමුත් ඔබ නරඹමින් සිටි දේවල යථාර්ථය ගැන ඔබ සිහියෙන් සිටියා නම්, ඔබට එම චිත්තවේගීය හැඟීම් කිසිවක් අත්විඳීමට නොහැකි වනවා ඇත. මෙලෙසම, මම යන හැඟීමද අප විසින් නිර්මාණය කරන ව්‍යාජව ගොතන ලද ඒ හා සමාන කාටූන් චරිතයකි. එවැනි අයෙක් සැබවින්ම සිටින බව අපගේ චින්තන පද්ධතියන් වැරදියට සංස්කරණය කර දෙන හැඟීම් ඇති කරයි. තමන් යැයි කෙනෙක් නොමැත යන අවබෝධ අත්පත් කරගත් විගසම, සංවේදී හැඟීම්වල යථාර්ථය පිළිබඳ වෙනස් අවබෝධයක් සහ යථාර්ථවාදී නොවන ආයතනයකට දක්වන බැඳීමෙහි ව්‍යාජ භාවයත් පැහැදිලි වේ. බුද්ධත්වයේ අත්දැකීම, මෙලෙස වර්ධනය කරගත් ගැඹුරු තීක්ෂ්ණ බුද්ධියක ප්‍රතිඵලය වශයෙන්ද, පස්වග මහණුන් අන්නතලබන සූත්‍ර ශ්‍රවණය කිරීමෙන් පසු ලබාගත් අවබෝධය මෙම සක්‍රිය අත්දැකීම යැයිදැයි සැලකිය හැකිය.

ප්‍රශ්නය: චතුරාර්ය සත්‍ය, ආර්ය‍අංගාන්ගික මාර්ගය සහ අනත්ත සංකල්පය ගැන ඔබේ විස්තරාත්මක කරුණු තර්කානුකූල වූවද විශේෂයෙන්ම බෞද්ධ බක්තිකයන් පුනරුත්පත්තිය විශ්වාසයෙන් බැහැර කිරීම සහ මම යැයි කෙනෙකු අපතුල උපකල්පනය වන්නේ අපේ මනසේ ක්‍රියාවලියෙන් බිහිවන සිතුවිලි පමනකින්ම බව පිලිගනු නැතැයි මගේ අදහසයි. ඒ ගැන ඔබට කිව හැක්කේ කුමක්ද?

පිලිතුර: මෙම සාකච්ඡාවේදී කීපවිටකම මතුවූ පරිදි බුදුන්වහන්සේටද මෙම ප්‍රශ්නයටම මුහුණ දීමට සිදුවූ බවත් එබැවින් බුදුන්වහන්සේ තම

අනුගාමිකයන් තුල පැවති එවැනි පොදු සමාජ විස්වාසයන් අදුරදර්ශී ලෙස දුරුලීමට තැත්නොකොට, තමන් සොයාගත් දුක නැතිකිරීමේ මාර්ගය වටහාදීමට එම විශ්වාසයන් උපාය මාර්ගයක් කර ගත් බව අපි අවබොධ කර ගත යුතුයි. මෑත කාලීන බොහෝ උගත් භික්ෂූන් වහන්සේලා සහ බෞද්ධ විද්වතුන් අනත්ත සංකල්පය ගැඹුරු න්‍යායාත්මක අවබෝධයකින් වටහාගෙන ඇති නමුත් ඔවුන් පවා නැවත ඉපදීම පිළිබඳ ඇති ජනප්‍රිය විශ්වාසය විවෘතව ප්‍රතික්ෂේප නොකරන්නේ බුදුන්වහන්සේ අනුගමනය කල හේතු නිසාම බව මා දරන අදහසයි. කීර්තිමත් බෞද්ධ භික්ෂුවක් වූ ආචාර්ය වල්පොල රාහුල, සුප්‍රසිද්ධ දාර්ශනිකයකු වූ ජේ ක්‍රිෂ්ණමූර්තිතුමාගේ "මනුෂ්‍යත්වය වෙනස් කළ හැකිද? ක්‍රිෂ්ණමූර්ති බෞද්ධයන් සමඟ සංවාදයක" යන කෘතියේ තමා නැවත ඉපදීමේ සංකල්පය පිළිනොගන්නා බව පැහැදිලි කර ඇත. දාර්ශනික භික්ෂුවක් වන නක්කවත්තේ අසරනසරන බුද්ධපරයාන හිමි ඔහු පුනරුප්පත්තිය පිළිනොගන්නා හේතු ත්‍රිපිටකයේ ඇති කරුණු උපුටා දක්වමින් පැහැදිලිකරන වීඩියෝ රාශියක් ප්‍රසිද්ධ මාධ්‍ය ඔස්සේ මෑතදී විකාෂනය කොට ඇත. මීට අමතරව දැන් දැන් බොහෝ වත්මන් උගත් භික්ෂුන්ද තමන් අප්‍රසාදයට ලක්විය හැකි අවදානම් නොසලකා මෙම යථාර්ථවාදී අදහස වක්‍රාකාරව ප්‍රකාශ කිරීමට පෙලඹී ඇත.

ප්‍රශ්නය: සිතන සිතුවිලි සහ චින්තකයා වෙන් කළ නොහැකි වැලඳ ගැනීමකට සවභාවයෙන්ම අප හසුවී තිබේද?

**පිලිතුර:** මම සම්බන්ධව ලෝකයේ සිටිනා **වටිනාම පුද්ගලයා මම** වන විට මා මායාවක් ලෙස සැලකීමේ යථාර්ථය පිළිගැනීම හෝ තේරුම් ගැනීම ඉතාම අපහසු කාර්යයක්. කෙසේවෙතත් පංචස්කන්ධය සම්බන්ධ කරමින් ඇති බෞද්ධ හේතුවාදයෙන් තොරව අනත්ත සංකල්පය ගැන තවත් අන්දමකට විවෘතව හා තාර්කිකව විමර්ශනය කර බලමු.

අපගේ අභ්‍යන්තර චින්තන ව්‍යුහය දෙස ගැඹුරු ලෙස බැලූවිට පෙනී යන්නේ අපි බොහෝ දුරට රොබෝයන්ත්‍ර මෙන් ක්‍රියාත්මක වන ජීවමය ආයතන බවයි. සජීවී සෛල වලින් අපි හැදී ඇති බව හැරුණු විට, අප හා රොබෝයන්ත්‍ර අතර ඇති ප්‍රධාන වෙනස නම්, අපව ක්‍රියාත්මක කරන මෙහෙයුම් වැඩසටහන් අපගේම මොළයෙන්ම කුඩාකල සිට වර්ධනය කර ඇති බවත් ඒවායේ වැඩිදියුණුව සහ නඩත්තුව අපි විසින්ම කරගෙන යාමත්ය. මෙම මෙහෙයුම් ක්‍රියාවලියේ වර්ධනය වීම දෙස අපි නැඹුරුව බලමු.

අපගේ ජීවිතය, යුක්තාණුවකින් ආරම්භ වෙයි. යුක්තාණුවක් සැලකිය හැක්කේ සංකිර්ණ, බුද්ධිමය සහ පෙර වැඩසටහන් වලින් සංයුක්ත දත්ත භාණ්ඩාගාරයකින් යුක්ත වූ ඉතාමත්ම පුදුමාකාර සක්‍රීය සෛලයක් ලෙසය. යුක්තාණුවක් ඇති වූ දින සිට එම සෛලය, සෛල බෙදීමේ ක්‍රියාවලියක් ආරම්භ කරයි. සති කිහිපයකට පසු ශරීර අවයව, මොළය, ස්නායු පරිපථ ආදිය සෑදීම සඳහා අවශ්‍ය විශේෂිත සෛල වර්ග රාශියක් නිපදවීමට යොමුවී එමගින් සති කීපයක් තුලදී ළදරු කලලයක් සාදයි. සිතීම සිදුවන මොළය සෑදීමද යුක්තාණුවක තිබු තොරතුරු නිරාවරනය ක්‍රියාවලියට අනුව කෙරෙන එක් කාර්‍යයකි. අපේ මොළය, අපගේ ශාරීරික ක්‍රියාකාරකම්වල පාලන මධ්‍යස්ථානය වනවා මෙන්ම චින්තන ක්‍රියාවලිය සිදුකරන මධ්‍යස්ථානය ලෙසත් කාර්ය කරන බව අපි දනිමු. මෙහිදී විශේෂයෙන්ම වැදගත් වන්නේ, එය අපගේ පැවැත්ම සඳහා අත්‍යවශ්‍යම වන "මම" යන හැඟීම නිර්මානය කරන සූක්ෂම සැලසුමාත්මක සෛල පද්ධතීන් ඇතිකිරිමයි. මම යන අදහස අපට ඇති වූ පසු, අපි අපට හැගෙන හා දැනෙන සෑම දෙයක් ගැනම වගකීම හා පාලනයක් තිබෙනවා යන කේන්ද්‍රීය හැඟීම අපි ඇතිකරගන්නා නමුත්, ඇත්තටම අපව නිර්මානය කල යුක්තාණුව තුල වූ අද්විතීය බුද්ධිමය සක්‍රිය ක්‍රියාදාමය තවමත් අපව නිහඬ කුමන්ත්‍රණකාරී ක්‍රමයකට පාලනය කරනවාද නැද්ද ගැන අපට කිසීම නිගමනයකට එලඹිය නොහැක. මේ නිසා යුක්තානුවක තිබු ප්‍රධාන සැලැස්ම අප ජීවිතය තුල දිගටම ක්‍රියාශීලීව තිබීමට

හැකි වන අතර එම සූක්ෂම පාලනය අපගේ ජීවිතයේ අවසාන තත්පරය දක්වා අපේ ග්‍රහණයට හසුනොවී, තිබීමට හැකි බව අනුමාන කිරීම සාදාරනය. මෙම නිර්මාණය තුළ අප කෙතරම් දුරට කොටු වී ඇත්ද යන්න තේරුම් ගැනීමට සහ ගවේෂණය කිරීමට අපට පුළුල් තාර්කික දැක්මක් තිබිය යුතු අතර ඒ ගැන අපට තිබෙන අවබොදය සුනාර්යය. ඉහත කරුන පෘථිවියේ බිහි වූ ප්‍රථම ක්ෂුද්‍ර ජීවයේ සිට ජීවත්වන හැමදෙයක්ම පොදුය. මෙම විමර්ශනය අපව පාලනය කරන සෙලවල ගැබ්වී තිබෙන අද්භූත හැකියාව ගැන විමසුමක් මතුකරයි. අපි මෙම අදහස දැනට පසෙකින් තබමු.

අළුතින් උපන් බිළිදෙකුගේ මොළයේ තම ජීවිත පැවැත්ම සඳහා අවශ්‍ය කුසලතා වර්ධනය කිරීමේ මූලික හැකියා ස්වභාවිකව අන්තර්ගත වී ඇත. මව, ළදරු ජීවිතයට අවශ්‍ය පෝෂ්‍ය පදාර්ථ ලබා දෙන අතරම, ළදරුවා තම ජීවන පරිසරයේ ඇති දේ තමා විසින්ම වටහාගෙන තම වර්ධන ගමනේ ප්‍රගතීන් ක්‍රමක්‍රමයෙන් ලබා ගනියි. මොළයේ ප්‍රමුඛතම කාර්යය වන්නේ සංවේදක ඉන්ද්‍රියයන් මගින් නොකඩවා ඇතුල්වන සංඥා හඳුනාගත හැකි වැඩසටහන් ජාල මොලයේ සෛල මගින් නිර්මාණය කිරීමයි. ඊට සමගාමීව, ළදරුවා වැඩෙන ශරීරයේ අවශ්‍යතාවලට ගැලපෙන පරිදි ශාරීරික ක්‍රියාකාරකම් සඳහාද වැඩසටහන් වර්ධනය වෙයි. ළදරුවෙකුගේ වයස මාස 10-12 ට ළඟා වෙත්ම, ඇයගේ මොළයට අන්අය සමග සන්නිවේදනය කිරීමට හැකි භාෂාවක් ඉගෙන ගැනීමට හැකි වේ. මේ වන විටත් "මම" යන අදහස මොළයේ තැන්පත් වී ඇත. භාෂාව ඉගෙනීමට සෑම විටම බාහිර පුහුණු කිරීම්ක් අවශ්‍ය වෙයි. මේ නිසා බොහෝ විට දරුවා ඉගෙන ගන්නේ අන් අයගේ අදහස්ය. සිතීමේ ක්‍රියාවලිය මීට පසු සිඝ්‍ර ලෙස වර්ධනය වේ.

විද්‍යාත්මක අධ්‍යයනවලින් පෙනී යන්නේ, සියලුම ශාරීරික සහ චින්තන ක්‍රියාවලියන් මොලයෙන් පාලනය වන්නේ සෛල ජාලයන් (cell circuitry) එකිනෙකා සමඟ සන්නිවේදනය කිරීමෙනි. මෙම සන්නිවේදනයන්

මෙහෙයවෙන්නේ, විශාල පිරිසක් එකට අත් අල්ලාගෙන නටනවා හා සමානව, නිරන්තරයෙන් වෙනස් වන කවයන් තුළ සෑම සෛලයක්ම ඕනෑම දාමයකට අයත් වන පරිදි සංවිධානය වීමට හැකි ආකාරයකටය. මෙම සියලු ජාල සන්නිවේදන ක්‍රියාවේ නිරත වන විට, අපට මම යන කෙනෙක් ඇත යන හැඟීමක් ඇති වේ. මොළයේ සෛල ජාලයන් මෙසේ සන්නිවේදනය නොකරන විට "මම" යන හැඟීමක් නැත. අපි සාකච්චා කල පරිදි "ගැඹුරු නින්දේ" හෝ නිර්වින්දනය තත්වයක සිටින විට මම යන හැගීමක් නැත. අපි මෙම තත්වයන්ගෙන් අවදි වූ විගස, සංවේදක සංඥා හඳුනා ගන්නා වැඩසටහන් නැවත ක්‍රියාත්මක වන නිසා මම පැවැත්මේ අදහස නැවත ජනිත වේ. මතක අංශයෙන් ගලාඑන දත්ත නිසා අතීතය ගැන හැගීමද ඒ තුළ අන්තර්ගතයි. සෛල ජාල එකිනෙකා සමඟ කරන නැටුම් සහ සන්නිවේදනයන් මගින් ඇති කරන හැගීම් මම යැයි උපකල්පනය කිරීම මායාවකි. 10^15 පමන මොලයේ ඇති සෛලවලින් එක සෛලයක් හෝ සෛල පද්ධතියක් හෝ සංනිවේදන ජාලයක් හෝ සියලුම සෛලයන් හෝ මම යැයි හැඳින්වීමට නොහැක.

උදාහරනයක් වශයෙන් ශල්‍යකර්මයේදී අප සිහිමූර්ඡා කර, අපගේ ජීවය බාහිර ජීවන ආධාරක මගින් පවත්වා ගෙන යන අවස්ථාවක් සලකන්න. එවැනි තත්වයක් තුළ "මම" යන හැඟීම අත්විඳින්නෙකු ශරීරය තුළ නොපවතී. මෙහිදී මොළයේ ක්‍රියාකාරකම් නැවත ලබා ගැනීමට නොදී ජීව ආධාරක පද්ධති ක්‍රියා විරහිත කළහොත්, අප මියයනවා පමනක් නොව ඒ සමඟ “මම ” යන හැඟීම නැවත බිහිවීමට තිබෙන හැකියාවද සදහටම අවසන් වනවා ඇත. ඊට පසු මොලයේ මතක අංශවල ඇති දත්තයන් සහ චින්තන පරිපථයන් සිරුර සමග විනාශයට ලක්වෙනවා ඇත.

මෙම උදාහරණය මරණින් මතු ජීවිතය යන මාතෘකාවට සබැදි කළහොත්, පුද්ගලයෙකුගේ මොලයේ පැවති සියලු අතීත මතකයන් සමඟ නැවත ජීවිතය

ලබා ගැනීමට වෙනත් ගර්භාශයකට, ස්වර්ගයට, නිරයට හෝ විශ්වයේ වෙනත් ස්ථානයකට ඇතුළු වීමට හෝ සර්වබලධාරි දෙවියෙකුගේ විනිශ්චය දිනය එනතෙක් බලා සිටීම යන ආගමික අදහස් මනස්කල්පිත බව පෙනීයනවා පමනක් නොව, මෙවැනි ලාමක අදහස් හුදෙක් අපගේම මොළයේ ක්‍රියාවලියන් මගින් අපම රවටාගැනීමක් වන බව තහවුරු නොකරන්නේද?

මම යන උපකල්පනය ඇති කිරීම සහ ඔබේ මානසිකත්වයේ ස්වභාවය රඳා පවතින්නේ නිශ්චිත මොහොතක මොළයේ සිදු වන ක්‍රියාකාරිත්වයන් මතය. සෞඛ්‍ය සම්පන්න මොළයක් නිරෝගී මානසික තත්වයක් ඇති කරයි. ඔබ ඇල්සයිමර් රෝගියෙක් නම් ඔබේ මානසිකත්වය සාමාන්‍යට වඩා වෙනස් තත්වයක් දරයි. ඔබ ඇල්සයිමර් රෝගයෙන් පෙළෙන්නේ නම්, ඔබ කලින් භුක්ති විඳ ඇති මම ලෙස උපකල්පනය කල හැගීම් ස්වභාවය, එලෙස නොපවතියි. අපි වයසට යන විට, අපගේ මොළයේ සෛලවල සක්‍රීය බව පිරිහී ගියහොත් මම ලෙස උපකල්පනය කල හැගිම්ද ඒ හා සමානව පිරිහී යනු ඇත. අප විසින් මොලයේ වර්ධනය කරන ලද වැඩසටහන් බොහොමයක් මකා දැමුවහොත්, වැඩිහිටි ශරීරයක් සහිත ළදරුවෙකුගේ මනසකට නැවත පත්වීමට පුළුවන. හදිසි අනතුරකින් මොළයේ ඇවිදීමට අයත් වැඩසටහන් කොටසකට හානි සිදුවුවහොත්, අපට ඇවිදීමට නොහැකි වනවා ඇත. එවැනි අවස්ථාවකදී අපට නැවතත් ඇවිදීමට ඉගෙන ගැනීමට සිදුවෙනවා ඇත. ඔබ කංසා හෝ දැඩි මත්ද්‍රව්‍ය පරිභෝජනය කළහොත් මොළයේ රසායන සංයුතියන් අවුල් වෙනවා ඇත. මොළයේ රසායන ස්වභාවය අනුව ඔබේ මානසිකත්වය වෙනස් වේ. ඔබ ශල්‍යකර්මයකින් හෝ හදිසි අනතුරකින් මොළයේ කොටසක් නැතිවී ගියහොත් ඔබේ පෞරුෂය විශාල ලෙස වෙනස් විය හැකිය. අපි ආතති සහගත තත්වයන්ට මුහුණ දෙන විට අපගේ මොළය නිෂේධාත්මක හැඟීම් ඇති කරන සෙරොටෝනින් වැනි රසායනික ද්‍රව්‍ය නිපදවේ. මොළයේ මෙවැනි රසායනික ද්‍රව්‍ය නිපදවෙන්නේ මම යැයි

උපකල්පනය කරන කේන්ද්‍රීය පාලනයකින් තොරවය. අපගේ ජීවන ක්‍රියාවන්වල සංවිධානය, කිසිදු කේන්ද්‍රීය මධ්‍යස්ථානයක හෝ අණ දෙන නිලධාරියෙකු නොමැතිව සෛල බිලියන ගණනකින් පාලනය වන ජීව පද්ධතියකි. අපේ පාදයේ සුළු ලේ ගැලීමක් සිදුවුවහොත් මොලයෙන් කරන කිසිම විධානයක් නොමැතිව එම ස්ථානය අවට තිබෙන සෛල ඉබේම ක්‍රියාත්මක වී ලේ ගමනය නතර කරයි. මේ සියලුම හැකියාවන් සිදුවන්නේ අපව නිර්මානය කල යුක්තානුව තුල තිබූ කාර්ය සැලැසුම් වලට අනුකූලව බව උපකල්පනය කිරීම තාර්කිකය. සිතීම යනු මොලයේ ඇතිවන ක්‍රියාවලියකි. ක්‍රියාවලියන් මහළු නොවේ. එමනිසා, අපට නිරෝගී මොළයක් තිබේ නම්, ඉතා මහලු වියේදී පවා අපට තරුණ මනසක් පවත්වා ගැනීමට හැක.

ඇස සහ සම්බන්ධ මොල-පද්ධති ධාරාවන් අපට මිරිඟුවන් වැනි දෘශ්‍ය මායාවන් ඇතිකරනවාට සමානව චින්තනය සම්බන්ධ මොල-පද්ධති ධාරාවන් මම යන මිරිඟුමය මායාව ඇති කරයි. මිරිඟුවන් ඇතිවන්නේ ඇස සම්බන්ධ චින්තන පද්ධතියෙන් තුලින් බව සැවොම අවබෝධ කරගෙන ඇති නමුත්, මම යන මිරිඟුව චින්තනයට සම්බන්ධ චින්තන පද්ධතියෙන් ඇතිවන බව අවබෝධ කර ගැනිමට අපහසු කර ඇත්තේ අප නිර්මානය කල යුක්තානුවේ අන්තර්ගත වූ සැලසුමක් මගින් විය හැකිය.

බුදුන් වහන්සේ විසින් සොයා ගන්නා ලද අනත්ත සංකල්පය ගැන ගැඹුරින් සිතා බැලීමට ප්‍රමාණවත් කරුණු මා ලබා දුන්නා යැයි විශ්වාස කරමි. ආචාර්ය ඇන්ටෝනියෝ ඩමසියෝ, ආචාර්ය වුල්ෆ් ජෝකිම් සිංගර්, ආචාර්ය බ්‍රෘස් ලිප්ටන් සහ තවත් බොහෝ ප්‍රවීණ ස්නායු විද්‍යාඥයින් මෙම සංකල්පය මුල්කරගත් පර්යේෂණ පුළුල් ලෙස කර ඇති අතර ඒවායේ ප්‍රතිඵලයන් අනත්ත සංකල්පය පිළිගැනීමට සුදුසු සංසිද්ධියක් ලෙස ඔවුන් පෙන්නුම් කරයි.

ප්‍රශ්නය: අපගේ සාකච්ඡාව අවසානයේ දී නිගමනය කළ හැක්කේ කුමක් ද?

පිළිතුර: මෙම සාකච්ඡාවට භාජනය කරනු ලැබුවේ මුලිකව පස්වග මහනුන්ට දේශනා කල ධර්ම සංකල්ප පමණි. එය බෞද්ධ ධර්මයේ සාරය ලෙස සැලකීම හේතුසහගත බවට සාකච්චා කල කරුණු සමඟ ඔබ එකගවනවා ඇතැයි මම සිතමි.

සාකච්චාකල සංකල්ප ගැන 'සියලු පාඨකයන්ට ගැළපෙන' නිගමනයන්ට අපට පැමිණිය හැකි යැයි මම නොසිතමි. මෙයට ප්‍රධාන හේතුව අප මුලදී සාකච්ඡා කළ පරිදි, එක් එක් පුද්ගලයාගේ මනෝභාවය කුඩා කාලයේ සිට විවිධ බලපෑම් සහ විශ්වාස සමග වර්ධනය වී ඇති බැවින් අප සිතන හැම අදහසකටම එම පුද්ගලික වර්ධන ව්‍යුහයන් මගින් දැඩි බලපෑම් කරන නිසායි. බෞද්ධ සංකල්ප වලින් නිරූපනය වන කරුණු දෙස මා දක්වන අදහස් මම විවිධාකාරව ප්‍රකාශ කලෙමි. මා නිරූපනය කරඇති අදහස් මෙන්ම පාඨකයන්ටද තම තමන්ට ආවේනික අදහස් තිබෙන බව මා පිලිගන්නා අතර අපගේ විවෘත අදහස් සමාජයට පලකිරීමට ඇති හැකියාවට සහ එසේ කිරීමට තිබෙන නිදහසට අපි ගරුකළ යුතුයි.

ආර්‍ය අශ්ඨාංගිකමාර්ගය නිසැකවම අපට ප්‍රධානලෙස දුක් වේදනා කම්කටොළු ආතති වැනි මානසික දුක් වලින් නිදහස් වීමට පදනමක් හා ප්‍රායෝගික ක්‍රියා පටිපාටියක් සපයන බව පිලිගත යුතුයි. එවකට පැවති ආත්ම සංකල්පයට පටහැනි වූ අනත්ත සංකල්පය අන්නතලඛන සූත්‍රය මගින් දේශනා කිරීම බුදුන්වහන්සේ ගත් නිර්භීත පියවරක් ලෙස පිලිගත යුතුවන අතර එමඟින් පස්වග මහනුන් රහත් බවට පත්වීමද විශේෂ සිද්ධියක් ලෙස සැලකිය යුතුය. කෙසේ නමුත් සිද්ධාර්ථ තවුසා ඔවුන් ඇසුරු කල හය අවුරුදු කාලයේදී ඔවුන් අතර අනත්ත සංකල්පමය හෝ සමාන අදහස් සාකච්චාවට භාජනය වූවේද

නැද්දබව අප නොදන්නා බවද එසේ වුවානම් අනත්තලක්ඛන සූත්‍රය දේශනා කිරීමට එම අතීතය බලපෑමක් වුවාදැයිද මා නොයෙක් විට සිතා ඇත.

ස්වයං අවබෝධයකින් සුවිශේෂී මනෝ විද්‍යාත්මක ඥාණයක් තිබූ බුදුන් වහන්සේ තම කාලයේ පැවති පොදු සාම්ප්‍රදායික විශ්වාසයන්ට බාධා නොකර තම ඉගැන්වීමේ මෙහෙවර ඉදිරියට ගෙන යා යුතු ආකාරය තේරුම් ගත් බව පිලිගත යුතුය. එම තීරණය ගැනීම නිසා බෞද්ධ ධර්මය සාමාන්‍ය අනුගාමිකයන් අතරට ගෙනයාම සඳහා නිෂේධාත්මක වාතාවරණයක් ඇති කිරීම, ධර්ම සාරය ඔවුන්ගේ මනස් තුළට සියුම් ආකාරයකින් විනිවිද යාමට සැලැස්වීමට හැකි වූ බව උපකල්පනය කිරීම තාර්කිකයයි මා සිතමි.

*"අපි යැයි හිතන්නේ අපිමයි. අප යන සංකල්පය ඇති කරන්නේ අපගේ සිතුවිලියි. අපේ සිතුවිලි වලින් අපි ලෝකය නිර්මාණය කරයි." - ධම්මපදය*